سنهالي

لغير المسلمين

سلسلة الهداية (1)

# දේව විශ්වාසය

# معرفة الله



සෙයියද් මුජ්තබා ලාරි

- සකලයින් අධ්‍යයන කේන්ද්‍රය -

# දේව විශ්වාසය




## සෙයියද් මුජ්තබා ලාරි

- සකලයින් අධ්‍යයන කේන්ද්‍රය -

# විශ්වාසයේ පරිණාමය

විද්‍යාව හා තාක්ෂණවේදය සෙයින්ම මිනිසාගේ දැනුමත් ආගමික විශ්වාසය හා ඇදහිලි ද සියවසින් සියවසට දියුණුව කරා ගමන් කරන්නේය. ආගම ඉතිහාසයට කලින් පැවතී ඇති අතර එය සෑම විටෙකදීම මිනිසාගේ විශේෂ ආදරය මෙන්ම අවධානයත් දිනාගෙන සිටියි. භාෂාව, ලේඛනය සහ මිනිසාගේ ජීවනෝපාය මෙවලම් සියල්ල ඔහුගේ මානසික හා ආධ්‍යාත්මික වර්ධනය හා සමාන්තරව ප්‍රගමනයට ලක් වී ඇත. මානුෂික ස්වභාවයන් සෙයින්ම ඒවාද විටෙක මෝදුවෙමින් හා යළි මැළවෙමින් පවතී. ආගම් ගණනින් වැඩි විය; ව්‍යාජ දෙවිවරුන් අති විශාල සංඛ්‍යාවක් හඳුන්වා දෙන ලදී. සමහර ඒවා මනඃකල්පිත වූ අතර තවත් සමහරකු සතුන් ද, මනුෂ්‍යයින් ද දේවත්වයෙන් සලකන්නට වූහ. මෙලෙස දේව විශ්වාසය, පාර භෞතික ආධ්‍යාත්මික හා ලෝකෝත්තර ස්වභාව ද ක්‍රම ක්‍රමයෙන් පසු කර අවසානයේ දී ඒකීය පරම යථාර්ථය වශයෙන් දෙවියන් වහන්සේව නිවැරදිව හඳුනාගැනීම දක්වා පරිණාම විය.

දැනුම හා ආගම ඇරඹුණේද, මෙවැනිම පහත් තැනකිනි. ලෝකෝත්තර ආධ්‍යාත්මිකභාවය කරා මිනිසාට ගමන් කරන්නට සිදු වූ මාර්ගය, විද්‍යාව හා සදාචාරය කරා ඔහු ගිය මාර්ගයට වඩා දුෂ්කර එකක් වීද යන්න අවිනිශ්චිත කරුණකි. ප්‍රත්‍යක්ෂයට හසුවන දෑ, හැඟීම් හා කල්පනාවට වඩා පහසුවෙන් ග්‍රහණය කර ගත හැක්කේය. පෙනෙන ලොව නොපෙනෙන ලෝකයට වඩා පහසුවෙන් සංවේදනය වන්නේය. දිව්‍යමය අවබෝධය සාක්ෂාත් කරගැනීම සඳහා අවශ්‍ය වූ ඉහළ මානසික තත්ත්වයකට ළං වනු පිණිස මිනිස් මොළයට කල්ප ගණනක කාලයක් අවශ්‍ය වෙයි.

වඩාත්ම පහසුවෙන් දැක ගත හැකි වස්තුව වන සූර්යයා සියලු වස්තූ මත දිදුලන්නේ ය. එහෙත් එහි සංයුතිය සහ ආකෘතිය පිළිබඳ විශ්ලේෂණය කරා ළඟා වී ඇත්තේ අසංඛ්‍ය උපකල්පන ගණනක බිහිවීමත් සහ යළි ඒවා බැහැර කරනු ලැබීමත් සම්බන්ධ දීර්ඝ ක්‍රියාවලිය තුළින් ය. හිරුගේ ආලෝකය අපට ලැබුණත් මේ උපකල්පන පිළිබඳ සත්‍යතාව අඳුරෙහිම නතර විය. මේ අඳුරට හේතු වූයේ මිනිස් චින්තනයේ බෙලහීනය හෝ අවනතිය නොවේ. විද්‍යාව හා දැනුම ද එක හා සමානව තිබුණු අතර චින්තන හා විශ්වාසය නොදියුණුව පැවතිණ. මිථ්‍යාව හා මායාවන් පසු කරමින් ඉදිරියට එන්නට ඒවාට සිදු විය.

මිථ්‍යා ප්‍රබන්ධ හා පුරාවෘත්ත මගින් ම්ලේච්ඡ ගෝත්‍රවලට ස්වකීය ඇදහිල්ල ලබා දෙන ලද අතර එය ඔවුන්ගේ යහපත් ගතිගුණ දියුණු කිරීමට ඉවහල් විය. විශ්වයේ ක්‍රියාකාරිත්වය තුළ ඇති ඒකතාව හා පිළිවෙල මෙන්ම ස්වභාවික

සිද්ධීන් අතර වූ සාපේක්ෂ සම්බන්ධතාව පිළිබඳ ගණිතමය නිරවද්‍යභාවයද අවබෝධ කරගැනීමේ ඉහළ මට්ටමකට දැනුම හා අනුභූතිය වර්ධනය විය. මේ තුළින් ලොව සියලු දැය, කිසිදු දෘශ්‍යමාන වස්තුවක් පරිද්දෙන් නොව රට සම්පූර්ණයෙන්ම වෙනස් තනි අසම සැලසුම්කරුවකුගේ සැලැස්මකට අනුව ක්‍රියාත්මක වන බව මිනිසා විසින් අනුමාන කරන ලදී.

සෑම ඵලයකටම එයටම විශේෂිත වූ හේතුවක් පවතින බව මිනිසා නිගමනය කළේය. විද්‍යාමාන දෑ එකිනෙක වෙනුවෙන් ස්වකීයමය වූ නිර්මාපකයෙක් සොයන්නට විය. මෙතැනින් ඔහු තවත් ඉදිරියට ගමන් කළේය. මුල් අවදිවලදී එබඳු මැවුම්කරුවන්ට සතුන්ගේ ආකෘතිය හා දර්ශනය ඇති වගක් ඔහු සිතා ගත්තේය. එය පසුකාලයේ දී දියුණු වී දෙවි දේවතාවන් හා අවතාර පිළිබඳ විශ්වාසයටත් අවසානයේ දී ඒකදේවවාදය දක්වාත් විකාශනයට ලක්විය.

මෙම ප්‍රගතිය වූකලී, මිනිසාගේ භාෂාව, චින්තනය හා සිරිත් විරිත් මෙන්, ඔහුගේ ස්වභාවයෙහි ප්‍රකෘති හරය පිළිබඳ ප්‍රකාශවීමක් වන වග, සියලු භූගෝලීය කලාප හා වකවානු ඔස්සේ සිදුකරන ලද ගවේෂණවලින් ප්‍රකාශ වෙයි.

මිනිසා සෙසු සියලු සතුන්ගෙන් වෙන් කොට දක්වන ඉන්ද්‍රිය ශක්තිය ඔහුගේ බුද්ධියයි. නවජ දරුවකු විසින් මේ බුද්ධිමය බලය පෙන්නුම් කරනු ලැබෙන්නේය. ඔහුගේ සිරුරේ වර්ධනය සිදුවන්නාක් සෙයින් ම ඔහුගේ මානසික ජේශීන් ද වර්ධනය වෙයි. නිරීක්ෂණය, ස්මරණය, සංසන්දනය, අනුමානය, කල්පනය, පූර්ව විනිශ්චය හා පරිකල්පනය ආදී ප්‍රකෘතීන් හැටියට ඒවා විකාශනයට පත් වෙයි. ශාරීරික අංගෝපාංග පෝෂණය කොට හැඩගැන්විය යුතු වන්නාක් සෙයින් ම මනස සඳහා ද එය අවශ්‍ය වන්නේ ය. මෙනයින් දේශපාලනමය හා ලෞකික රාජ්‍යයෙහි භෞතිකමය සමූහය එක්සත් පරිශ්‍රමයක් ඔස්සේ දියුණු කළ යුතු වන සෙයින්ම මිනිස් වර්ගයාගේ බුද්ධිමය, ආචාරමය, දාර්ශණික හා විද්‍යාත්මක විඥාන සමූහයද අන්‍යොන්‍ය වීර්ය මගින් නගා සිටුවිය යුතු වන්නේ ය.

මිනිසා, සහස්‍ර ගණනාවක ස්වකීය පැවැත්ම අතරතුරේ දී අදහස් සම්භාරයක් වඩවා ගෙන ඇත. මේවා සියවසින් සියවසට මානව චින්තනයේ ගැඹුරට විනිවිද යමින්, පුළුල් වෙමින් හා විහිදෙමින් පවතින්නේය. අවසානයේදී මේ දැනුම් සමුදය, බෙහෙවින් සාරසම්පන්න හා ඌන පූර්ණමය තත්ත්වයකට පත් වූ අතර එතැනදී විශ්වාසය හා ඇදහිල්ල හටගත්තේ ය. මෙය, එකිනෙක සොයාගැනීම් මෙන් මිනිස් ජීවිතයේ සුවිශාල ප්‍රගතියක් විය. ඒ කෙරෙන් නව

ඓතිහාසික යුගයක් උදා කරන ලදී. කලින් හඳුනා නොගැනුණු සාරධර්ම කරා මෙහෙයැවුණ ජීවිතයේ ඉලක්කයක් පිළිබඳ අවබෝධය උද්ගත කරවූයේය.

# දුර්වලකමක්

ආගමික විශ්වාසය වනාහි මිනිසාගේ ගතිගුණ අතුරින් පැරණිතම එකක්ය යන සත්‍යය ඓතිහාසික පර්යේෂණ ක්‍රියාවලි පදනම් කරගෙන විද්‍යාව මගින් පිළිගෙන ඇත. එහි සම්භවය හා විකාශනය සම්බන්ධ විවිධ අදහස් දරනු ලැබේ. සොබාධර්මයේ බලවේග හා සජීවී භයානක සතුන් ඉදිරියේ මිනිසා සිය බෙලහීනත්වය හා අකාර්යක්ෂමතාවය දැක සිය පීඩිත ස්වභාවය අවබෝධ කරගන්නට වූ තැන සිට ආගමික විශ්වාසය හා ඇදහිලි පටන්ගත් බව එක්තරා අදහසක් ප්‍රචලිතව පැවතිය.

කෙසේ වෙතත් බෙලහීන බව මගින් ආගම විස්තර කර දිය නොහැක. ඇදහිල්ලේ මූලාශ්‍රය බෙලහීනතාවය නොවන්නේය. ස්ථිරසාර විශ්වාසවන්තයින් කිසිවිටෙක දුර්වලයින් හා අස්ථිර අයවලුන් නොවෙති. මානව වර්ගයා ශ්‍රද්ධාව හා ආත්ම විශ්වාසය පිළිබඳ මාවත කෙරෙහි යොමු කළ සාන්තුවරුන් හා වක්තෘවරුන් අන් සියලු දෙනාටම වඩා බලවත් ලෙස ධෛර්යය, අධිෂ්ඨානය. ආත්ම ශක්තිය හා ආගමික විශ්වාසය කෙරෙන් පන්නරය ලැබූ මිනිසුන්ය. කැරැල්ල, පාපය හා නපුරට එරෙහිව මේ ශ්‍රේෂ්ඨ පුද්ගලයින් ගෙන ගිය සටනෙහිදී ඔවුන් සන්නද්ධ කරවන්නට ඇත්තේ කවර ශක්තියක් මගින් ද? දුඃඛදායකත්වය, වධබන්ධනය හා විරෝධය කෙරෙන් ඇති කරන ලද කටුක වේදනාව විඳ දරාගැනීමෙහි ලා ඔවුන්ට ආත්ම විශ්වාසයක් ලබා දුන්නේ භෞතික ලාභ හෝ දේශපාලනමය සමෘද්ධිය පිළිබඳ අපේක්ෂාව විය හැකිද? කිසි විටෙකත් නැත.

මෙනයින් ආගම කෙරෙහි ශක්තිය ලබාදෙනුයේ දුර්වලතාව පිළිබඳ සිහිය නොවේ. මානව වර්ගයා ආගමේ මාර්ගයට යොමු කළ පුරෝගාමීන් විසින් එසේ කරන්නට ඇත්තේ කිසිසේත්ම දුර්වලතාව, පහත් බව සහ බෙලහීනකම නිසා විසි නොහැක.

විශ්වයේ විශිෂ්ඨත්වය පිළිබඳව මිනිසා අවබෝධ කරගන්නා තරමටත් විශ්වයේ රහස් පතුළට ඔහු වඩ වඩාත් එබෙන තරමටත් ඔහුගේ විශ්වාසය වඩාත් ප්‍රබලව වැඩෙන්නේ ය.

ආගම යනු ව්‍යාධියක් නොවේ. ලෝකය තුළ මෙන්ම ස්වකීය ඇතුළාන්තය සම්බන්ධවද යථාර්ථය සොයා යන තැනැත්තා තරම් තවත් නිරෝගී මිනිසෙක් වන්නේ ද? අසනීපයක් මගින් ස්වකීය වේදනාව හා දුක ම හැරෙන්නට අන්

සියලු යථාර්ථයන් මිනිස් මනසින් බැහැර කරවයි.

ආගම හා විශ්වාසය යනු එක් නිබන්ධයක ඉඩකඩෙහිලා ගෙනහැර දැක්වීමට නොහැකි තරමින් පුළුල් විෂයකි. මෙය අතිවිශාල විෂය ක්ෂේත්‍රයක් වෙයි. ඒ සම්බන්ධයෙන් කරනු ලැබෙන ගවේෂණ ඉතා පුළුල් ආකාරයකට සිදු කළ යුතුය. මානව ස්වභාවයේ සෑම ගුණාංගයක් පිළිබඳව කරන අධ්‍යයනය පරිද්දෙන්ම ඒවායේ හේතු හා ඵල පිළිබඳ සමස්ත විෂය ද කිසිදු තනි නිබන්ධනයකින් ආවරණය කළ නොහැක.

ආගම හා විශ්වාසය පිළිබඳ නිදාන සම්භාරය කිසිදු කේවල නිබන්ධනයකින් ආවරණය කළ නොහේ. ඒ පරිද්දෙන් ම මිනිස් සන්තානයෙහි ගැඹුරුතම චලනයන් ද එක්වර ගොනු කොට දැක්වීම අසීරු වෙයි. උදාහරණයක් හැටියට ප්‍රේමය යනු අනෙකෙකුට දක්වන සෙනෙහසට, රූපය කෙරෙහි ඇතිවන ආකර්ෂණයට, පරහිතකාරීත්වයට හෝ මේ ත්‍රයයෙහිම සංකලනයකට පවා වැඩි යමක් වන්නේ ය. ආදරය යනු එහි සමස්ත අර්ථයෙන් ම කුමක් වන්නේ ද යන්න පිළිබඳ යථාර්ථයෙහි ගැඹුරු තැන් විමැසිය හැක්කේ කවර නිබන්ධයකට ද? එපරිද්දෙන් ම, පවත්නා විශ්වය හා එහි සමස්තය පිළිබඳ යථාර්ථය රට විස්තර කළ දිය හැකි ද?

වෛද්‍ය විද්‍යාවට අදාළ විඥානය හා නිපුණතාව සාමාන්‍ය ඇදහීම හා මායාව කෙරෙන් ප්‍රයෝජනවත් ශිල්පයක් බවට විකාශනය විය. ඇල්කෙමිවාදය ද මනඃකල්පිතයන් කෙරෙන් රසායන විද්‍යාව ද නූතන විද්‍යාවක තත්ත්වයට ප්‍රගමනය වූයේ ය. ගවේෂණය පිළිබඳ විෂය අනිවාර්යයෙන්ම සදොස් උපකල්පනය මගින් ඇරඹී අත්හදා බැලීම හා ප්‍රමාද ඔස්සේ, සත්‍යය සොයා දැන ගත්තේය.

## බිය

"ආගම් වැරදි සහගත වී ඇති" ය යනුවෙන් බොහෝ දෙනෙකු පවසති. එය සැබෑවක් විය හැකිය. එහෙත් තර්කානුකූල නොවේ. දේව විශ්වාසය නිෂ්ප්‍රභා කිරීම පිණිස දෙවියන්ගේ සතුරන් විසින් මෙවැනි අදහස් කියනු ලැබේ. වැරදි වනාහි හුදෙක් මිනිස් වර්ගයා සත්‍යය සොයා යන ගමනේ පැකිළෙන පියවර පමණි.

මිනිසාගේ බිය එනම්, නොදන්නා දෙය, මරණය, වැනසීම හා අබිරහස් පිළිබඳ ඔහුගේ චින්තාව තුළ ආගම මුල් ඇද ඇති වග බර්ට්‍රන්ඩ් රසල් පවසයි.*

* Why I am Not a Christian, Pg. 37

ස්වකීය තර්කය ස්ථිර කරවනු පිණිස ඔහු විසින් කිසිදු හේතු දැක්වීමක් ඉදිරිපත් නොකරන්නාක් සෙයින්ම "මිනිසා දෙවියන් වහන්සේ කෙරෙහි ගැඹුරු කරවීමෙහි ලා පෙළැඹ වූ එකම අභිප්‍රායය බිය වී නම්, එයින් කිසිදු මැවුම්කරුවකු නොවන්නේ ය යන්න ගම්‍ය වේද?"යන පැනයට පිළිතුරු දීමට ද ඔහු අපොහොසත් වේ.

මිනිසා දෙවියන් සොයා ගත්තේ සිය බියෙන් මිදෙනු පිණිස නිසි රක්ෂස්ථානයක් සොයා යන විට වුවත් දෙවියන් පිළිබඳ යථාර්ථය අවලංගු කිරීමට එය ප්‍රමාණවත් වන්නේ ද? විදුලිය පිළිබඳ රහස් සොයා ගැනීමට මිනිසා එළවන ලද්දේ විදුලි කෙටීම පිළිබඳව හටගත් බිය විසින් වුවද මෙහිදී විදුලි බලය පිළිබඳ යථාර්ථය නිෂ්ප්‍රභා නොකරන්නෙමු.

විශ්වාසය යනු සියල්ල දත් සැමතැන වැජඹෙන නිත්‍ය ප්‍රකාශනයක් ය යන්න සැබැවකි. විශේෂයෙන්ම මිනිසා නොසන්සුන් තත්ත්වයට පත්වන විටක දී එහි බලය වඩා ප්‍රබල ලෙස ස්පර්ශ කළ හැක යන්න එක් කාරණයකි. මෙලෙස ඉතා අසහනකාරී අවස්ථාවක දී යමක පිහිට පැතීම පිළිබඳ සහජයෙන්ම පිහිටි පෙළැඹීම ත්‍රාසය මුල්කරගෙන බිහි වූ එකක් ද යන්න වෙනත් ප්‍රශ්නයකි. මෙම කාරණා දෙක වෙන වෙනම විශ්ලේෂණය කළ යුතුය.

## සහජ පිහිටීම

මිනිසා සහජයෙන්ම කරුණු ගණනාවක් ගැන නිසැකව විශ්වාස කරන්නේ ය. උපතින්ම එලෙස සිදුවන්නේ ය. ඒවා සියල්ල ඔහුගේ ලේ නහර සමග පිහිටියා මිස පසුව ඔහු තුළට කාවද්දනු ලැබුවා නොවේ. උගත් නුගත් සැම පුද්ගලයෙක් තුළම මෙය සමානව පවතී. නිදසුනක් ලෙස "සම්පූර්ණ අංකයක වටිනාකම ඊට වඩා අඩු ඛණ්ඩයන්ට වඩා ප්‍රමාණයෙන් ලොකුයි" යන අදහස පැහැදිලි කර දැක්වීමේ අවශ්‍යතාවය කිසිවෙකු සම්බන්ධයෙන් පැන නොනගී.

විද්‍යාව, දර්ශනය, තර්කය වැනි දේ උපත ලබන්නේ, සහජයෙන්ම විශ්වාස කරන යථාර්ථයන් සම්බන්ධ සත්‍යතාව පිළිබඳව මිනිසාට සැක පහළ වන අවස්ථාවේදීය. ආගමික විශ්වාසය - දේව ඇදහිලි මිනිසා තුළ සහජයෙන්ම පිහිටි, ස්වභාවික අයුරින් මිනිසා විසින් පිළිගනු ලබන්නා සත්‍යයකි. මෙහි සත්‍යතාවය හොඳින් අවබෝධ කරගැනීමට නම්, පුද්ගලයකු තමන් සතුව පවතින ආගමික හෝ අනාගමික විශ්වාස හා ප්‍රතිපත්ති සියල්ල පසෙක දමා, කිසිදු පූර්ව නිගමනයකින් තොරව විශ්වය දෙස දෑස් විවර කර එහි දකින සත්‍යතාවය සෙවිය යුතුය.

විශ්වයේ පවතින වස්තූන්හි ක්‍රියාකාරිත්වය සමග තමන් ද කොටසක් බවට

පත්ව ඇති අයුරු, විශ්වය දෙස හොඳින් බලන කෙනෙකුට අවබෝධ වේ. අති විශාල විශ්වයේ විවිධාකාර ක්‍රියාකාරීත්වය තුළ ඔහු යම් ස්ථානයක දී සිය ගමන පටන්ගත්තේය. එය ඔහු කැමැත්තෙන් තෝරාගත් ආරම්භයක් හෝ ගමනක් නොවේ. පසුව තමන් විසින් ස්වෙච්ඡාවෙන් තෝරා නොගත් ඉලක්කයක් කරා කැමැත්තෙන් හෝ අකමැත්තෙන් ඉදිරියට ඇදී යන්නේය. විශ්විය සැලැස්ම තුළ ඔහු ද සිය ස්ථානය ලබාගන්නා අතර අනෙක් සියලුම ජීවීන් සමග තවලමේ දිගටම ගමන් ගනී.

මේ දෙස අවධානය යොමු කරන ඔහු, විවිධාකරයෙන් තමන් විශ්වයේ වස්තූන් සමග අන්තර් සම්බන්ධතාවයක් පවත්වා ගෙන යන බවත් එය විශ්වයේ ඉතා සූක්ෂම හා නිවැරදි සැලසුමට අනුකූලව සිදුවන බවත් දැන ගනී. මේ සියලුම ක්‍රියාකාරීත්වයන් මෙතරම් සැලසුම් සහගත අයුරින් නිරන්තරයෙන්ම සිදුවන්නේ නම්, මෙය පසුපස අදෘශ්‍යමාන බලවේගයක් ක්‍රියාත්මක වනු ඇතැයි ද එය සියලුම ජීවීන් හා වස්තූන්ගේ පැවැත්ම, ක්‍රියාකාරීත්වය හා අර්ථවත් අන්තර් සම්බන්ධතාවය සැලසුම් කර පාලනය කරනු ඇතැයි ද වටහා ගැනීම ස්වභාවිකයි.

මේසා විශාල විශ්වය තුළ පවතින ප්‍රමාණයෙන් ඉතා කුඩා කුඩා ජීවීන් පිළිබඳ දැනුම ද, මේ විශිෂ්ඨ ක්‍රියාවලියට යම් කිසි ඉලක්කයක් දිය හැකි අධිෂ්ඨානයක් ද සතු බව විශ්වාස කරන්නට පෙළඹෙයි. එහි ප්‍රතිඵලයක් වශයෙන් ඔහු මෙසේ නිගමනයකට එළැඹෙයි. එනම්, මේ සියල්ල පසුපස අද්විතීය ඥාණයක්, අසමසම බලයක් සහ නිවැරදි අරමුණක් පවතින්නේය. එහි පරිමාණයන් අපහට පෙනෙන භෞතික ලෝකයට වඩා බෙහෙවින් වෙනස් අදෘශ්‍යමාන එකක් ද විය හැකිය. එම බලවේගය මගින්, සියලු ජීවීන් නිර්මාණය කරනු ලැබ සැලසුමක් යටතේ ක්‍රියාත්මක කොට පෝෂණය හා රක්ෂණය කරනු ලැබේ.

මෙම නිගමනයට එළැඹීමට තුඩු දුන් එක්තරා වැදගත් සහජ විශ්වාසයක් ද වේ. එනම් කිසිදු ක්‍රියාවලියක්, ක්‍රියාවට නංවන කෙනෙකුගෙන් තොරව, කිසිඳු නිර්මාණයක් නිර්මාපකයෙකුගෙන් තොරව පවතින්නේ නොමැත යන විශ්වාසයයි. මව්කුසේ කලක් සිට කිසිදු ශබ්දයක් මෙතෙක් ශ්‍රවණය නොකළ කුඩා ළදරුවෙක් පවා, ශබ්දයක් ඇසූ සැණින් එම ශබ්දය ඇති කරන කෙනෙක් හෝ යමක් පවතින බව අවබෝධ කරගෙන එදෙසට හැරෙන්නේ ස්වාභාවික ලෙසිනි. භෞතික ලොවේ දකින, පවතින සියලුම කාරණා පසුපස හේතුවක් හා කාරකයක් පවතින බව විද්‍යාත්මක පර්යේෂණ මගින් ද සාමාන්‍ය ප්‍රායෝගික ජීවිතයෙන් ද ඔප්පු කර තිබේ.

හේතු ඵලවාදයේ මූලධර්මය අනුව කිසිම වස්තුවක් එයින් බැහැරව පවතින්නට බැරිය. භූ විද්‍යාව, භෞතික විද්‍යාව, රසායනය, ජාන විද්‍යාව, ආර්ථිකය හා මෙකී නොකී සියලුම විද්‍යා හා ශාස්ත්‍රවලින් ද කෙරෙනුයේ සියලුම වස්තුන්හි පැවැත්ම හා එහි ක්‍රියාකාරිත්වය නිර්ණය කරන්නා වූ හේතුව, සම්බන්ධතා, බලපෑම් හා සංවේදී බව ආදිය පිළිබඳව සොයා බැලීමයි. ශාස්ත්‍ර අතරින් ඉතා නිවැරදි විසඳුම් ලබාදෙන ගණිත ශාස්ත්‍රය මගින්ද එකතු කිරීමෙන්, වර්ග කිරීමෙන්, සමාන කිරීමෙන් හා නොයෙකුත් ගණිතමය ක්‍රියාකාරිත්ව මගින් මෙම කාර්යයම වෙනත් ස්වරූපයකින් ඉෂ්ඨ කරනු ලැබේ. ධන හා ඍණ වැනි සලකුණු නිවැරදිව යොදා නොගත් විද්‍යාඥයා සිය නුගත්කම ඔප්පු කර පෙන්වයි. කෙටියෙන් කියනවා නම් දෘශ්‍යමාන වස්තූන් පසුපස ඇති හේතු ඵල පිළිබඳව අධ්‍යයනය කිරීම හා ඒවායින් උකහා ගනු ලබන්නා වූ සොබා දහමේ නීතිරීති මිනිසාගේ ප්‍රයෝජනය සඳහා යොදාගැනීම මත මිනිස් වර්ගයාගේ ප්‍රගතිය හා උන්නතිය රැඳී පවතී.

සොබා දහම තුළ ඉබේම හෝ අහේතුක ලෙස බිහි වූ යම් දෙයක් සොයා ගන්නට අපට හැකිවුවහොත් අනෙක් ක්ෂේත්‍රවල ද එවැනි ප්‍රාතිහාර්යයන් අපේක්ෂා කිරීම යුක්ති සහගතයි. එහෙත් සොබා දහමෙන් උකහා ගන්නා ලද නීතිරීති අනුව එවැන්නක් සිදුවීමට අවස්ථා නොමැත. "කිසිඳු ද්‍රව්‍යයක් හෝ බලශක්තියක් කිසිවිටක විනාශවන්නේ ද අළුතින් බිහිවන්නේ ද නැත" යන්න එහි නීතියයි. කිසිඳු වස්තුවක් සොබා දහමේ පිළිගත් නීතිරීතිවලට පටහැනිව ස්වාධීනව බිහිවීමට හෝ පැවතීමට නොහැක යන සත්‍යය අපි අවබෝධ කරගන්නෙමු. අවසාන වශයෙන්, හේතුවකින් තොර කිසිඳු ඵලයක් නොමැති බව මිනිසාගේ සියලුම අධ්‍යයන හා පර්යේෂණ වලින් තහවුරු වේ. මේ නිගමනයට විරුද්ධ මතයක් දරන තැනැත්තා ස්වභාවික මෙන්ම විද්‍යාත්මක හා බුද්ධිමය තර්ක විතර්ක හා එළැඹීම් ප්‍රතික්ෂේප කරන අතර මැවුම්කාරයාගේ සැලැස්මද අවබෝධ කරගන්නේ නැත.

නිසැකවම ඇතැම් දේ පිළිබඳව සහජයෙන්ම විශ්වාස කිරීමේ ස්වභාවය මිනිසාට මෙන්ම සතුන්ට ද විශේෂිතයි. එම ඉවය, එහි සීමාවන්ගෙන් බැහැර කරනු ලබන විට ඉන්ද්‍රියයන්ගේ සීමාවන් සිසාරා ඉන් ඔබ්බට ගමන් කිරීමටත් කුඩා, ලොකු, අදෘශ්‍යමාන හා අද්භූත සියලු දේ ගැන විපරම් කිරීමටද පුළුවන. මෙම සහජ පෙළඹීම සොබාදහමේ අද්විතීය සැලසුමට සම්පූර්ණයෙන්ම ආවේණිකය. ඊනියා දාර්ශනිකයින් හා විද්‍යාඥයින් ගේ හෝ ධර්මවේදීන් ගේ කන් පැළෙන දොඩමලුවලින් එහා සත්‍යය විවර කර බලන විට මෙය හොඳින් පැහැදිලිය. එවිට අවසානතම පරම සත්‍යය අවබෝධ වේ. මෙම සහජ පෙළැඹීම භූගෝලීය, සංස්කෘතික හේතූන් මගින් සීමා කරනු ලබන දෙයක්

නොවේ. අධ්‍යාපන ක්‍රමයක් තුළින්, සමාජ පරිසරයක් මගින් හෝ වෙනත් සාධකවල බලපෑමින් කාවද්දනු ලැබූවා ද නොවේ. එය ස්වාභාවික හැඟීමක් දරුවා කෙරෙහි මව තුළ ස්වභාවිකවම උතුරන සෙනෙහස බඳුය.

ඇතැම් විට මෙම සහජ පෙළඹීම, ජීවයේ හඬ බාහිර චින්තනවල, තර්ක විතර්ක හා දර්ශනවල බලපෑම් නිසා මැළවනු ඇත. එහෙත් එවැනි සමාජීය, සංස්කෘතික හෝ වෙනත් බලපෑම්වලින් මිදී එන අවස්ථාවේ සත්‍ය ස්වභාවය නැවත අවදිවෙයි. මෙම සහජ පෙළඹීම සොක්‍රටීස් සඳහන් කළේ අද්භූත බලවේගයක්, ලෙසිනි. ඉස්ලාම් එය හඳුන්වන්නේ "ෆිත්රත්"-සහජයෙන්ම පිහිටි ස්වභාවය යනුවෙනි.

එහෙත් විද්‍යාවේ අස්ථිර නිගමනවලින් මෙම සහජ පෙළැඹීම වසන තිරයක් හෙළනු ලැබේ. දැනුම, බුද්ධිය, තර්කය, කුසලතා වැනි අලංකාර තිරපටවලින් එය වසා තබනු ලැබේ. මේවායේ බලවත් වර්ණ සංකලනය තුළින් පැහැදිලි ලෙස සත්‍යය දෙස බැලීම අපහසු කරනු ලැබ තිබේ.

සිය බුද්ධිමය පරිපූර්ණත්වයට ළඟා වූ පුද්ගලයෙක් තමන් කිසිඳු බලපෑම්වලට ලක් නොවන ආකාරයේ ආරක්ෂිත ස්ථාවරයක පවතින බව සිතීම වරදකි. අපි මෙහිදී අදහස් කරන්නේ මිනිසා සිය තාක්‍ෂණ බල මහිමයේ, විඥාණ වර්ධනයේ මායාව තුළ කොටු නොවිය යුතුය යන්නයි. තමන්ට විවර වන විද්‍යාවේ හා දැනුමේ අළුත් පැතිකඩ සියල්ලක්ම තම ඉදිරිගමනේ පියවර ලෙස සලකමින් උසස්ම තලයන් කරා ගමන් කළ යුතුයි. එමගින් අප විසින්ම නිර්මාණය කරගත් පරිභාෂික වචන මාලාවක් තුළම හෝ විජ්ජාවක් ලෙස සලකන අලංකාර සිතුවිලිවල සිපිරිගෙය තුළට හෝ කොටු නොවී නිදහස් ස්වාධීන ක්‍රියාකාරී සිතිජයක් කරා ප්‍රගමනය කළ හැක.

මිනිසා තුළ උත්පත්තියෙන් පිහිටි ඔහුට මගපෙන්වීමේ හා බොහෝ සත්‍යයන් අවබෝධ කර ගැනීමේ සහජ හැකියාව "ෆිත්රත්" යන අරාබි වචනයෙන් විස්තර කෙරේ. ආගමික ඇදහිලිවලට පදනම බිය හා ත්‍රාසය බව බර්ට්‍රන්ඩ් රසල් පඬිතුමාගේ තර්කයයි. ආපදාවලදී පිහිටවීමට "ෆිත්ර්ත්" නොපැකිලිව වහාම ඉදිරිපත් වන වග එම තර්කයෙන් ප්‍රතික්ෂේප කෙරේ. මෙහි දී සිදුවන්නේ රසල් දාර්ශනිකයා කී විදියට නොව රට පටහැනිවය. එතුමා කර ඇත්තේ අශ්වයා කරත්තයේ පසුපස බැඳීමයි. සැබැවින්ම ආගම බිහිවූයේ බිය නිසා නොව, මිනිසා බියවන විට ඔහුගේ පිහිටට මුලින්ම ඉදිරිපත් වන්නේ ආගමික විශ්වාසයයි.

ප්‍රශ්නවලින් හෙම්බත් වී, සියලුම විසඳුම් මාර්ග අවහිර වී දුක් කරදරවල භයානක රැළිවලට හසු වී අතරමං වන කෙනෙකුට "ෆිත්රත්" හි හඬ කතා

කොට පාරභෞතික බලවේගයක් වෙතට ඔහු යොමු කරයි. එම ඒකීය හා කාරුණික, අදෘශ්‍යමාන හා අපරිමිත බලවේගය තුළ සරණ සොයා ගනී. එය ඔහු සිතුවාටත් වඩා ඔහුට සමීපව කටයුතු කරන බව වටහා ගනී. ත්‍රාසජනක ආපදාවලින් ඔහු මුදවාගෙන ගැලවුම ලබා දෙයි. මෙය, ජීවිතයේ සියලුම අවස්ථාවන්හි එම අදෘශ්‍යමාන බලවේගය වෙත මුළු හදවතින්ම යොමු වී සිටීමට ඔහු පොළඹවයි.

ලෝකයේ තමන් හුදෙකලා වී ඇති බවත් පිහිටට කිසිවෙක් නොමැති බවත් හැඟීමෙන් ඇතිවෙන අසරණභාවය නිසා ඔහුගේ යටිහිත අවදි වී දේව විශ්වාසය වෙතට ඔහු යොමු කරනවා විය හැක.

මෙම ආධ්‍යාත්මික ආලෝකයේ රශ්මියෙන් මිනිසාගේ හදවත මෙන්ම මුළු පැවැත්ම ද බබලන්නට වේ.

තමන්ගේ සශ්‍රීකමත් හා බලයේ මුදුන් පෙත්තෙහිම සිටි දවස්වල මෙම සත්‍යය ප්‍රතික්ෂේප කළ හෝ සැලකිල්ලකට නොගත් භෞතිකවාදීන් පවා තමන් බලරහිත වූ බංකොලොත් වූ දුෂ්කර තත්ත්වයට පත් වූ විට තමන් විසින්ම නොසලකා හරින ලද, ප්‍රතික්ෂේප කරන ලද අදෘශ්‍යමාන බලවේග සොයා ඒවායේ පිහිට පතන ආකාරය අපි අනන්ත වාරයක් දැක ඇත්තෙමු. ඔවුන්ගේ දුෂ්කරතාවයේ දී සියලුම සත්ත්වයන් බිහිවීමට මුල් වූ, සියලුම බල පරාක්‍රමවල මූලික වූ අද්විතීය බලවේගය සොයා යන්නෝය.

එහෙයින්, මෙම "ෆිත්රත්" නම් සහජ පෙළඹීම ප්‍රතික්ෂේප කිරීම හෝ හඳුනා නොගැනීම තුළින් සියලුම වර්ගයේ අදේවවාදී, බහුදේව වාදී, ප්‍රතිමා වන්දනය පටන් ප්‍රගතිශීලි භෞතිකවාදය දක්වා බොහෝ සිද්ධාන්ත බිහිවන්නට විය. "ෆිත්රත්" තවත් තරකොට ආලෝකමත් කොට දිව්‍යමය මගපෙන්වීමේ සහ අභ්‍යන්තර ආධාරයේ තේජස අනිවාර්යයෙන්ම ආරක්ෂා කරගත යුතුවන්නේ මෙවැනි අවස්ථාවන්හිදී ය. වැරදි මාවතකට පිවිසීමෙන් ද එක තැන පල්වීමෙන් ඇතිවිය හැකි බිය හා තනිකමින් ගැලවීම, මෙලෙස ලබාගත හැක.

දෙවියන් වහන්සේගේ පණිවුඩය රැගෙන පැමිණි දිවැසි ප්‍රසාදීවරු අමතන්නට වූයේ, නිර්මාපක මහා බලවේගය සොයා කැකෑරෙමින් සිටි හදවත් වලටය. සිය හෘද සාක්ෂිය, බාහිර බලපෑම්වලින් වසඟ නොකොට, විවරව තබාගෙන සිටි අය මුලින්ම එම ආරාධනය පිළිගත්හ.

ප්‍රතිමා වන්දනය, ගස්, ගල්, ඉර, හඳ, තරු, සුරුවම්, සතුන් වැනි බොහෝ දේ වැඳ පුදන මිනිසාගේ ඇදහිලි ප්‍රාථමික, නොදියුණු හා සැලකිල්ලට ගන්නට හැකි තත්ත්වයේ නොතිබිය ද ඒවා සියල්ල තුළින් එක්තරා සත්‍යයක් ප්‍රකාශ

වේ. එනම්, සියල්ලෝම තමන්ට වඩා ඉහළින් තීරණය කරන්නා වූ මහා කාරුණික බලවේගය වෙත යොමුවෙමින් සිටින්නෝය. ඔවුනොවුන්ගේ ඇදහිලිවල ඇතැම් වෙනස්කම් තිබෙන්නට පුළුවන. මෙය ආරම්භක පියවර පමණි. විද්‍යාවේ ආරම්භක පියවර ද මෙලෙසින්ම විය. බොහෝ විට ඒවා හුදෙක්ම ප්‍රාතිහාර්යයන්ට සමාන විය. පසුව ඒවා පසුකර විද්‍යාව ඉදිරියට ගමන් කළ අන්දමට මෙම ඇදහිලි ද දියුණුවට ලක්ව, අවසාන ඒකීය මහා පරම සත්‍යය හඳුනා ගැනීම දක්වා යා යුතුව ඇත.

විවිධාකාර වූ මෙම ඇදහිලි ඒකීය දේවවාදය හඳුනාගන්නා තුරු මිනිසා තුළ කැකෑරෙන කුතුහලය යම්තාක් දුරට සංසිඳුවන්නේය.

# විද්‍යාගාරයේ ආගම

ගෙවිගිය සියවස තුළ ආගමික අත්දැකීම් හා ඇදහිලි බොහෝ විද්‍යාඥයින්ගේ පර්යේෂණයට හා විශ්ලේෂණයට මාතෘකාව විය. සමාජ විද්‍යාව, පුරා විද්‍යාව, මානව ශාස්ත්‍රය, මනෝ විද්‍යාව වැනි ක්ෂේත්‍ර මුල් කරගෙන ආගම් අතර සංසන්ධනාත්මක අධ්‍යයන, ආගම්වල ඉතිහාසය, දර්ශනය යනාදී වශයෙන් විවිධාකාර පර්යේෂණයන් කරන ලදී. ඒවා මගින් ආගම් පිළිබඳව නොයෙකුත් ආකල්ප හා අදහස් ඉදිරිපත් කරන ලදී. කෙටියෙන් කියනවා නම්, ආගම්, විද්‍යාවේ අංගසම්පූර්ණ පරීක්ෂණයකට ලක්විය.

මිනිසා තුළ ගැබ්ව තිබෙන විඥාණය පිළිබඳව සිග්මන් ෆ්‍රොයිඩ් පර්යේෂණය කළේය. මිනිස් මොළයේ ක්‍රියාකාරිත්වය සහ හැඟීම් හා මනස පිළිබඳ බොහෝ කරුණු ඔහු විසින් සොයා ගන්නා ලදී.

ඇල්ඩර් සහ ජුංග් විද්‍යාඥයින් ඊට වඩා පතුලටම ගියෝය. හැඟීම්වල සැබෑ අරුත හා මනසේ ක්‍රියාකාරිත්වයේ විවිධ පැති ඔවුන්ගේ පර්යේෂණයට ලක්විය. මිනිසා තුළ විශාල ලෝකයක්ම ඔවුහු සොයාගත්තෝය. කල්පනා කිරීම, සිත්රූප මැවීම, කරුණු විශ්ලේෂණය පටන් තීරණයකට එළැඹීම දක්වා වූ මනසේ විවිධ හැකියාවන් ගැන අළුත් අදහස් ප්‍රකාශ කරන ලදී. මේවා සියල්ල, ඔවුන්ගේ අදහස් අනුව ඉතා ප්‍රාථමික හැකියාවන් වේ. ආගමික විශ්වාසය ද ඒ ගොඩටම ඔවුහු දැම්මෝය. කෙසේ වුවද එය තර්කයේ බුද්ධියේ මහිමයෙන් වැඩි දියුණු කිරීමේ හැකියාව ප්‍රතික්ෂේප නොකළෝය. මේ සියලුම අධ්‍යයනයන් මගින් සිදුකරන ලද විශිෂ්ඨතම සේවය නම් ආගමික විශ්වාසය පිළිබඳ විද්‍යාත්මක විශ්ලේෂණය දියත් කරනු ලැබීම සහ ආගම් පිළිබඳව මෙතෙක් නොදැන සිටි බොහෝ කරුණු මනෝ විද්‍යාත්මකව ඉදිරිපත් කිරීමයි.

සියලුම පරීක්ෂණවලින් පසු අවසාන වශයෙන් ඔප්පු වූ යමක් විය. එනම්, ආගමික විශ්වාසය මිනිසාගේ මූලික ලක්ෂණයකි යන්නයි. සහජයෙන්ම ඔහු තුළ මෙය පිහිටා තිබේ. එයින් තොර මිනිසා මිනිසා නොවේ. එය තවත් කිසි දෙයක් සමග හුවමාරු කිරීමට හැකි දෙයක් ද නොවේ. එහි මුල් ආධ්‍යාත්මය තුළ තිබේ. එමගින් පුද්ගලයා තමා කවරෙක්දැයි හඳුනාගන්නේය. ඔහුගේ පැවැත්ම හා ස්ථානය ගැන ඔහුට අවබෝධයක් ද ලබා දෙයි.

මෙම ගණයට අයත් තවත් සහජ හැගීම් ගණනාවක් නම් කළ හැක. මේවා ද ඒ ගණයට අයත්වන කරුණු වේ.

1. සත්‍යය : අදෘශ්‍යමානව පවතින වස්තුවකි. නිරවද්‍යතාවය සහ යුක්ති සහගත භාවය සෙවීමේ සහජ පෙළඹීමයි. මිනිසා පොළොවේ පය තැබූ මුල් අවදියේ සිට, තමන් නොදන්නා බොහෝමයක් කාරණා පසුපස හඹා යමින් ඒවා මොකක්දැයි අවබෝධ කැගැනීමට ඇති කුතුහලය. ඔහු පර්යේෂණ හා අධ්‍යයනයන්ට යොමුවන්නේ ඒ නිසාය.

විද්‍යාවත් තාක්ෂණයත් කර්මාන්තයත් බිහිවූණේ මේ නිසාය. විශ්වයේ හා දැනුමේ සැගවුණු තැන් සෙවීමට හා ජය ගැනීමට පර්යේෂකයින්ට හා විද්‍යාඥයින්ට උනන්දුව ලබාදුන් ශක්තියයි.

2. යහපත්කම : යුතුකම, ශ්‍රද්ධාව, යුක්තිය හා පරාර්ථකාමී බව වැනි බොහෝ දේ අගය කිරීමේ හා ඒවායේ පසිඳලීමේ පෙළඹීම. මේ නිසා පාරිශුද්ධත්වය රැකීමටත් පාපිෂ්ඨ දූෂිත චර්යාවලින් වැළකී සිටීමටත් සහජ පෙළඹීමක් ලැබේ.

3. ලස්සන : ලස්සන පිළිබඳ හැඟීම මගින් රසඥතාවය, ප්‍රශංසාව, කලා නිර්මාණ කුසලතා වැනි බොහෝ දේ බිහිවන්නේය.

4. ඉහත කාරණා තුන සමග ආගමික විශ්වාසය පිළිබඳ පෙළඹීම ද එකතු වේ. පාරිශුද්ධත්වයේ මූලය, යහපතේ උත්පත්ති ස්ථානය හා වන්දනාමාන කිරීමට වඩා සුදුසු අංග සම්පූර්ණ බලවේගය සොයා යාමට ලැබෙන පෙළඹීම.

දේව විශ්වාසය මගින් මිනිසාගේ අවශ්‍යතාවයන් බොහෝමයක්ම ඉෂ්ඨ කරනු ලැබේ. ඒවා බුද්ධිමත් තර්කානුකූල අවශ්‍යතා ද එසේ නොවන ඒවා ද විය හැක. මෙම උද්දීපනය මගින් සෙනෙහස සොයා දෙවියන් වෙතට ළඟාකර අඛණ්ඩ සම්බන්ධතාවයක් පවත්වාගෙන යාමේ කුතුහලය ඇති කරලයි.

ඩේකාට් දාර්ශනිකයා සහ තෝමස් අක්වයිනස් සාන්තුවරයා ආදීන් විසින් ඔවුන්ගේ තර්ක මූලයන් පදනම් කරගෙන ඉදිරිපත් කරන ලද දෙවියන් වහන්සේගේ පැවැත්ම පිළිබඳ සාධක මිනිස් බුද්ධියට වඩා හොඳින් ගැලපේ.

එහෙත් නූතන විද්‍යාව හා දර්ශනවාදය මගින් පිළිගනු ලබන්නේ ඔවුන්ගේ විද්‍යාගාර පරීක්ෂණවලින් ඔප්පු කළ හැකි දේ පමණි.

පැස්කාල් වැනි පරම විඥාණවාදීන් ආධ්‍යාත්මික අත්දැකීම් මූල්කරගෙන ආගමික හැඟීමට පිළිතුරු දෙන්නෝය. එතුමා කියන පරිදි දේව පැවැත්ම පිළිබඳ මිනිස් මොළය මගින් උකහාගනු නොලබන බොහෝ සාධක මිනිසාගේ හදවත තුළ ගැබ්ව ඇත. (Rise of wisdom in Europe, Vol 12,P.18) විල් ඩුරාන්ට් මෙසේ කියයි: "ආගම ස්වාභාවික එකකි. එය අපගේ හැඟීම් හා විඥාණය තුළින් නිරායාසයෙන්ම සෘජුවම බිහිවන්නේය."

ආචාර්ය ඇලෙක්සිස් කැරල්: "ආධ්‍යාත්මික හැඟීම් මූලික ස්වභාවයේ ගැඹුරටම පිහිටි දෙයක්. මිනිසාගේ පැවැත්මට ජලය අවශ්‍යවනවා මෙන් දේව විශ්වාසය ද අවශ්‍ය අංගයක් වේ."

දැනුමේ අන්තර්ගතයන් "ෆිත්රත්" හි අන්තර්ගතය හා සමාන බව ආචාර්ය රුඩොල්ෆ් ඔතෝ 1920 දී ප්‍රකාශ කළේය. මේ දෙකම අන්‍යොන්‍යව කටයුතු කරන කාරණා දෙකක් බවද ඔහු කීවේය. දෙවියන් වහන්සේගේ ලක්ෂණ සියල්ල -සර්වඥාණභාවය, පරිපූර්ණත්වය, සර්වබලධාරී බව යනාදීන්- තනි තනිවම අවබෝධ කරගත යුතුය. ඒ අනුව "පාරිශුද්ධභාවය" යනු පොදු හා ස්වාධීන සංකල්පයකි.

අපි අද අජටාකාශ ජයගත් යුගයේ සිටින්නෙමු. මිනිසා මෙතෙක් දැන සිටි උස, පළල හා ගැඹුර නම් ත්‍රිමාණයන්ට විශ්වයේ පරාසය ද සිව්වැනි පරිමාණය බවට එකතු කරනු ලැබ තිබේ. ඊට සමාන්තරව ගොස් අපිද "සත්‍යය, යහපත සහ ලස්සන" යන සංකල්ප තුනට "පාරිශුද්ධත්වය" ද එකතු කරමු. එය මිනිස් ආත්මයේ සිව්වැනි පරිමාණයයි. මෙම සිව්වැනි පරිමාණය සෙසු ත්‍රිමාණයන්ගේ පදනම ද විය හැක.

ඉතිහාසයේ සෑම කාලපරිච්ඡේදයක දීම එක්තරා සුළු කණ්ඩායමක් මගින් භෞතිකවාදී සංකල්පය ප්‍රචාරය කරනු ලැබුවද එය ආගමික විශ්වාසය සහජයෙන් පිහිටි කරුණක් බවට පවතින සත්‍යය නිෂ්ප්‍රභා කිරීමට තරම් සමත් නොවිය. පාරභෞතික සංකල්පය ස්වභාවික මූලයක් සහිතය.

# අනාගමික සිතුවිලි

අනාගමික චින්තනය මුලින්ම ක්‍රි.පූ සත්වන සියවස වන විට ආරම්භ වූ බව නූතන ඉතිහාසය කියයි. තාලෙස් (ක්‍රි.පූ. 622-560), හිරක්ලිටස් (ක්‍රි.පූ 530-470) සහ ඔහුගේම සමකාලීනයෙකු වූ ඩිමොක්‍රිටස් වැනි අය ආගමික

විශ්වාසවලට තර්ජනයක් එල්ල කළ මුල්ම චින්තකයෝ වෙති. ක්‍රි.පූ. සිව්වන සියවස මැද භාගයේ විසූ එපිකියුරස් මොවුන් සියල්ලටම වඩා ප්‍රසිද්ධියක් උසුලයි.

මෙම දාර්ශනිකයෝ ආගමික විශ්වාසය ප්‍රශ්න කළ ද, භෞතිකවාදීන් නොවූහ. භෞතික වෙනස්කම් ආධ්‍යාත්මික බලපෑම් නිසා සිදුවන බව තාලෙස් විශ්වාස කළ බවත්, ඩිමොක්‍රිටස් කිසිවිටෙක භෞතිකවාදියෙකු නොවූ බවත් ආත්මයේ පැවැත්ම ගැන ඔහු විශ්වාස කළ බවත් "දර්ශනවාදයේ ඉතිහාසය" ග්‍රන්ථයේ කතුවරයා පෙන්වා දෙයි.

භෞතිකවාදය විද්‍යාවේදීන් අතර ප්‍රබල චින්තනයක් ලෙස ප්‍රසිද්ධියක් උසුලන්නට පටන්ගත්තේ ක්‍රි.ව 17 වැනි සියවසේ පටන් ය. ඊට විරෝධය දැක්වූ අය ද නොසිටියා නොවේ. නිදසුනකට ජීන් ජැක් රූසෝ ඇතැමුන් දකින්නේ භෞතිකවාදී අනාගමිකයකු ලෙසයි. එහෙත් තවත් බොහෝ අය ඔහු ගැන කියන්නේ දේව භක්තියෙන් පෝෂිත චරිතයක් ඔහු සතුව තිබූ බවයි.

ඔහු විසින් කිතුණු දේවසභාව දැඩි සේ විවේචනය කරන ලදී. භෞතිකවාදියෙක් ලෙසට ඔහු හංවඩු ගසනු ලැබීමට එයද හේතුවක් වන්නට පුළුවන.

දයිරතුල් මආරිෆ් - අරාබි භාෂා විශ්ව කෝෂයේ එහි කතුවරයා මිසර ජාතික ෆරීද් වුජ්දි, රූසෝ ගෙන් මෙසේ උපුටා දක්වයි. "සොබාදහමේ බලයෙන් සිදුවන සිද්ධීන් දෙසත් එකිනෙකට සම්බන්ධ වී සිදුවන විශාල විපර්යාසයන් දෙසත් ඉතා ඕනෑකමින් බලන විට ඉබේම ඔප්පු වන කරුණක් නම්, මේවා සියල්ල පසුපස මූලික හේතුව වශයෙන් සිටින බලවේගය ඉතා කරුණාවන්ත බවයි. උන්වහන්සේගේ බලමහිමයෙන් අචල දේ චලනය වන අතර අජීවී දෙයින් ජීවීන් බිහි කරනු ලැබේ. උන්වහන්සේ කොහේ සිටිනවා දැයි ඔබ ඇසුවොත් මම මෙසේ පිළිතුරු දෙන්නෙමි. "ක්‍රියාකාරිත්වයන්ගෙන් සපිරි අජටාකාශයේ, අලෝකය විහිදෙමින් බබළන තාරුකාවල, ඇයි මා තුළ, තණ බිමේ සිටින එළු පැටියා තුළ, ඉගිලී යන කුරුල්ලා තුළ, සුළඟට සෙලවෙන ගසක කොළ අතර, සෑම තැන සෑමදේ තුළම මා උන්වහන්සේ දකින්නෙමි.

මේවා සියල්ල විශාල බුද්ධියක සැලසුම් සහගත ප්‍රකාශන නොවේද? මෙහි දකින අති සූක්ෂම සැලසුම, ඉබේම සිදුවනවාද? මගේ විශ්වාස නම් උත්තරීතර බුද්ධියක් මේවා නිර්මාණය කර පෝෂණය කර පාලනය කරයි. අජීවී භූතයකින් ජීවය බිහිවිය හැකිද? අන්ධ අනතුරකදී ඉතා ලස්සනට සැලසුම් කරන ලද කරුණක් ඉබේ බිහිවිය හැකිද? ප්‍රබල බුද්ධියෙන් තොර ප්‍රාතිහාර්යයක් මගින් බුද්ධිමත් චින්තන සහිත නිර්මාණයක් බිහි කළ හැකිද?"

කිසියම් ඖෂධයක් පාවිච්චියට ගැනීමත් එයින් සෞඛ්‍ය තත්ත්වයෙහි ඇති වෙන වෙනස් වී මුත් අතර සම්බන්ධතාවක් පවතින බව අපි දන්නෙමු. මේ ඖෂධය ක්‍රියාත්මක වන ආකාරය ගැන වෛද්‍යවරයෙකුගෙන් විමසූ විට තේරුම් ගැනීමට නොහැකි පාරිභාෂිත යෙදුම්වලින් බැහැරව ඔබගේ දැනුමේ තරමට අනුව ඔහු විසින් පිළිතුරු ලබා දෙනු ඇත. යම්කිසි වෛද්‍යමය ගැටළුවකට පිළිතුර "දෙවියන් වහන්සේ ය" යනුවෙන් පැවසීම සාමාන්‍ය පුද්ගලයකුගේ ප්‍රතිචාරයක් මිස විද්‍යාත්මක පිළිතුරක් නොවන්නේය. වෛද්‍යමය ගැටළු සඳහා වෛද්‍යමය පිළිතුරු අවශ්‍ය වේ. එකිනෙක විද්‍යා මගින් ස්වකීය දේශන අධිකාරියෙහි ලා තමන්ට අනන්‍ය පාරිභාෂික යෙදුම් භාවිතයට ගත යුතු වන්නේය. දේවධර්ම ශාස්ත්‍රය සතුව ඊට අනන්‍ය වූ පරිභාෂා ශාස්ත්‍රයක් පවතියි. විශේෂඥවරු තනි ක්ෂේත්‍රයකට සීමා වී සිටින අතර දෙවියන් පිළිබඳ මතය සර්වභෞමික ග්‍රහණයක් සතුය.

ඇරත්, සියලුම පර්යේෂණාත්මක විද්‍යා කෙරෙන් උපදින්නේ දෛනික ජීවිතයේ දී ක්‍රියාවෙහි යෙදවිය හැකි ද්‍රව්‍යමය ප්‍රතිඵලයි. මේවා, ඒවා ප්‍රයෝජනයට ගනු ලබන මිනිසුනට තත්ත්වාකාර හා සමීප දෑ වෙති. මෙනයින් දෛනික විස්තරවලට එතරම් සමීප අයුරින් පැහැදිලිව සදෘශ නොවන වඩා පුළුල් අභිප්‍රායයන් සම්බන්ධයෙන් පසුබට වන ඔවුහු ඒවා ගැන අවිශ්වාසය පළ කරන්නෝය. එකිනෙක විද්‍යාව මගින් ස්වකීය බලප්‍රදේශය වටා බිඳ හෙළිය නොහැකි ස්වභාවයේ කඩඉම් ප්‍රාකාරයක් ගොඩ නගනු ලැබ ඇත. මෙම ප්‍රාකාරය ඇතුලත ඒවා මගින් පෙන්නුම් කරනු ලැබෙන සක්‍රියතාව නිසගයෙන්ම සිය කාර්යසාධන පිළිබඳව අප තුළ පවත්නා දෘඪ ශ්‍රද්ධාව හා විශ්වාසය වර්ධනය කරවන්නේය. එනයින් ස්වකීය වරප්‍රසාදය පිණිසත් ඒ ඔස්සේ අන් බලපෑම් ලඝු කොට දැකීම පිණිසත් විද්‍යාව මගින් අප තුළ රෝපණය කරවා ඇති ආකල්ප කෙරෙන් වර්ණයක් ලබන්නට ලෝකය පිළිබඳ අපගේ දර්ශනය වෑයමක යෙදෙයි.

මිනිසා දෘඪතර හා ස්ථිරසාර විශ්වාසයකින් සන්නද්ධ නොවන තැන තවදුරටත් ඔහු දෙවියන් හඳුනන අන් මිනිසුන්ගේ චර්යාවලට අමුත්තකු ව සිටියි. ඔහු තුළ සැකය වර්ධනය වෙයි. ඔහුට පිළිගත හැකිවන්නේ විද්‍යාත්මක චින්තනය සහ කියැවීම හා සමග ඒක භූත විය හැකි දෑ පමණකි. ස්වකීය විද්‍යාව මගින් තමන් උදෙසා ඔප්පු කර නොදෙන - හෝ එසේ කිරීමට ඉඩක් නැති - කවර යම් දෙයක් වුවත් ඔහු සම්පූර්ණයෙන් විශ්වාස නොකරයි. මෙයින් ආගමික චින්තනය පිළිබඳ පදනම අස්වැද්දීමකින් තොරව රඳන අතර සූත්‍ර හා සමීකරණ වලින් සමන්විත විද්‍යාත්මක භාෂා කෝෂයක් තුළ වැඩෙන මොහු ආගමික කරුණු, සාමාන්‍ය තත්ත්වයෙහි ලා සිතන්නේය.

මෙය සුවිශාල වරදක් වේ. විද්‍යාව ඇරඹුමේ දී එය ස්වකීය නිරීක්ෂණයන් නොපැහැදිලි හා සංකීර්ණ සූත්‍ර කෙරෙන් ප්‍රකාශයට පත් කරවන්නට ඉඩ ඇත. නමුත් ඒවා ජීවිතය තුළට අනුවර්තනය කරවුණු තැන මේවා පවා සරල හා සාමාන්‍ය තත්ත්වයට පත් විය හැකිය.

අනුගත රෝගයක් විනිශ්චය පිණිස ඉතා පරීක්ෂාකාරී අවධානයක් යොදවන්නටත්, තේරුම් ගැනීමට අපහසු යෙදුම් මගින් හසුරවනු ලැබෙන පාරිභාෂාමය දැනුම් සම්භාරයක් මෙහෙයවන්නටත් වෛද්‍ය විද්‍යාවට අවසර තිබේ. නමුත් රෝගී තැනැත්තාට වැරදි දෙය කුමක්ද, කළ යුතු දෑ කුමක්ද යන්න කියා දීමේදී එය ප්‍රමාණවත් තරමින් සරලව ඉටු කරනු ලැබිය යුතු වන්නේය. "මේ බෙහෙත ගන්න. අහවල් දැය ඔබේ ආහාරවලට ඇතුළත් කර නොගන්න" ආදී වශයෙන්. උගත් වෛද්‍යවරයා විසින් මූලික රීතිය හෝ එය ක්‍රියා කරවනු ලබන්නා වූ ඖෂධ පිළිබඳව විස්තර කර දෙනු නොලැබේ. ඔහු කියා දෙන්නේ ප්‍රතිකාරයට අදාළ හුදු අවශ්‍යතාවයන් පමණකි.

දෙවනුව, වත්මනෙහි කවරෙකුට වුව දුරකථනය හෝ ගුවන් විදුලිය භාවිතා කිරීමේ හැකියාව ඇත. ඒවා දෛනික ජීවිතයේ අංග බවට පත් වී තිබේ. ඒවායින් උපරිම ප්‍රයෝජන ලබා ගැනීම සඳහා වන රෙගුලාසි පාරිභෝගිකයන් සඳහා සරල, සාමාන්‍ය හා දෛනික යෙදුම් මගින් විස්තර කෙරෙන අතර ව්‍යාකූල පාරිභාෂික ශබ්දමාලා සියල්ල මග හරිනු ලැබේ. මේ ආකාරයෙන් භාෂා සඳහා නිසි පසුබිම පවතින්නේ අලුත් මෙවලම් උපදවන හා නිර්මාණය කරන විද්‍යාත්මක හා කාර්මික මධ්‍යස්ථාන හා ඒ කෙරෙහි උනන්දුවක් දක්වන පොත් පත් හා පොත් ගුල්වලය.

මෙනයින් හුදෙක් ආගමික ඇදහිලි, සංකීර්ණ සූත්‍ර හා විද්‍යාත්මක පරිභාෂා ශාස්ත්‍ර කෙරෙන් ප්‍රකාශයට පත් නොවන පමණින් විද්‍යාව මගින් ඒවා ලඝු හා පිටස්තර වශයෙන් සලකනු ලැබීම අසාධාරණ මෙන්ම තර්කයටත් අනුකූල නොවේ. ආගමට අදාළ මූලිකාංග හා ශික්ෂාවන් මිනිසුන් විසින් වටහා ගනු ලැබෙන සරල සුපුරුදු වදන්වලින් ප්‍රකාශ කරනු ලැබිය හැක්කේ සැබැවින්ම එහි මහිමය කරණ කොට ගෙනයි.

ඇරත්, ආගමට අදාළ ශික්ෂා හා ප්‍රතිපත්ති මානව ගවේෂණය, හේතු සාධනය හා රසයට අනුගතව පවතියි නම් සාන්තුවරුන් හා වක්තෘවරුන් පිළිබඳ අවශ්‍යතාවක් නොවේ. විද්‍යාඥයා හා කර්මාන්තශාලා හිමියා එකතුව යන්ත්‍රයක් තනන ආකාරයටම එය අප විසින් ම අවබෝධ කර ගනු ලැබ තිබෙන්නට හැකිය.

මෙතෙක් කිසිදු යුගයකදී මිනිසාට තමන් විසින් මිහිමත පවතින සියලුම

රහස් පිළිබඳව සොයා බලනු ලැබ ඇති වග හෝ ඒවා තම ග්‍රහණයට නතු කර ගනු ලැබ ඇති වග හෝ වටහා ගත හැකිව ඇති සියලුම දැය වටහා ගනු ලැබ ඇති වග හෝ පිළිබඳව උදම් අනන්නට හැකිකම ලැබී නැත. තවමත් ඔහු පරිණාමයට පත් වෙමින් හිඳින අතර ඔහු නිරන්තරයෙන්ම ස්වකීය වැරදි හරි ගස්සා ගත යුතුය. එවිට ඔහු විසින් දැනුම බවට හරවා ගත යුතුව ඇති අවිද්‍යා සම්භාරය ඉමහත්ය.

# විද්‍යාවේ සීමාව

දැන් අපි විද්‍යාත්මක බලප්‍රදේශය තුළ මායිම් හා විද්‍යාවලට ස්වකීය නිගමන ඉදිරිපත් කිරීමේ අයිතිය ඇති ගැටළු කවරේද යන්න විමසා බලමු. ඔවුන්ගේ ක්‍රියාකාරකම්වල ඉලක්කය හා ඔවුන්ගේ ගවේෂණවල විෂය නිශ්චිත සීමා තුළ තහවුරු වී තිබේද?

පර්යේෂණාත්මක විද්‍යා මගින් අධ්‍යයනය කළ යුතු ප්‍රස්තුත වන්නේ භෞතික ලෝකය නොහොත් භෞතික වශයෙන් විද්‍යාමාන දෑ පමණක්ම ය. විද්‍යාත්මක මෙවලම් හා ස්වකීය අරමුණු සාක්ෂාත් කර ගැනීමෙහි ලා වන එහි උපායවලට නිරීක්ෂණය, උපකල්පනය, ක්‍රමානුකූල පරීක්ෂණ හා සාධනය අන්තර්ගත වෙයි. ඒවා ක්‍රියාත්මක වනුයේ ලෝකයත් විශාලතම එකෙහි පටන් ඉතා සියුම් දැය තෙක් වන වස්තූනුත් කෙරෙහිය. මෙනයින් ඒවා අභිප්‍රාය සමග පුද්ගල මූලික නොවන භාව වශයෙන් විනිශ්චය කෙරේ. ඒවායේ තීන්දු බාහිර ලෝකය සමග අන්‍යොන්‍ය වශයෙන් ගැලපෙන විට ඒවා පිළිගනු ලැබෙන්නේය. එසේ නොවන තැන ඒවා ප්‍රතික්ෂේප කරනු ලැබෙනු ඇත. තීන්දුවක් අවට ලෝකය කෙරෙහි දක්වන අනුකූලතාව සනාථ කෙරෙනුයේ පරීක්ෂණ මාර්ගයෙනි.

විශ්වාසය හා ඇදහිල්ල පිළිබඳ බල ක්ෂේත්‍රයට එබී බැලීමේ අයිතිය ඇත්තේ කවර විද්‍යාත්මක ගවේෂණයකට ද? පර්යේෂණාත්මක විද්‍යාව දෙවියන් වහන්සේ සමග සම්බන්ධ වන්නේ කවර තැනක දී ද?

ඇත්ත වශයෙන්ම පුද්ගලයෙකුගේ විශ්වාසය හෝ විශ්වාසය නැතිකම සම්බන්ධයෙන් පර්යේෂණාත්මක විද්‍යාවල සම්බන්ධයක් නැත. ස්වභාවික විද්‍යාවල විෂය වනුයේ ස්වභාවික ආශ්චර්ය වන බැවින් දෙවියන් පිළිබඳව ධනාත්මක හෝ නිෂේධනාත්මක මතයක් ඉදිරිපත් කිරීමට ඒවාට හැකියාවක් නැත. සියලු ආගමික ගුරුකුල මගින් අපට කියා දෙන්නේ, දෙවියන් වහන්සේ වනාහි ශාරීරික ධාතුවක් නොවන වගයි. ඔහු පංච ඉන්ද්‍රියයන්ට ගෝචර වන්නේ නැත. කාලය හා අවකාශයට සම්බන්ධ සන්තානයේ ඔහු අඩංගුව නැත.

ඔහුගේ සාරය, සියල්ලෙන් සෑහීමට පත් ස්වයංපෝෂිත එකකි. තමන්ගෙන් බැහැර කිසිදු දෙයක් ගැන ඔහු තුළ අවශ්‍යතාවයක් නැත. පර්යේෂණාත්මක විද්‍යාඥයන්ගේ සියලුම ග්‍රන්ථ කියවා බැලුවද, පරීක්ෂණය මගින් දෙවියන් හෝ ඔහුගේ ගුණාංග පිළිබඳව විමසා බැලිය හැකි නොවන්නේය. මන්ද දෙවියෝ වනාහි ස්වභාවික ආශ්චර්යයක් නොවන බැවිනි. ඔහු පිළිබඳ විශ්වාසය පරීක්ෂා කර බලනු පිණිස කිසිදු පරීක්ෂණයක් පිහිටුවිය හැකි නොවේ. කිසියම් පර්යේෂණාත්මක විද්‍යාඥයකු විසින් ස්වකීය පර්යේෂණය පාදක කොටගෙන දෙවියන් පිළිබඳව සියලු ආකාර ප්‍රතික්ෂේප කිරීම් ප්‍රකාශයට පත් කරනු ලැබෙන්නේ නම් ඔහු ස්වකීය විද්‍යාවේ නීති කෙරෙන් අපගමනය වී සිටියි. මෙහිදී ඔහු තමන් යෙදී සිටින කටයුත්තේ විෂයය හා පරාසය නොදන්නා සෙයක් පෙන්වයි. විද්‍යාවල දෙවියන් පිළිබඳ දැනුමේ අකරාදියක් පවා අඩංගු වී නැත. මෙනයින් පර්යේෂණාත්මක විද්‍යාවල සමුදුරේ ගිලී සිටින අයකු විසින් දෙවියන් පිළිබඳව ප්‍රතික්ෂේප කරනු ලැබීම බුද්ධිමත් කටයුත්තක් නොවේ.

ජෝර්ජ් ලිස්ටර් විසින් "දාර්ශනික මූලිකාංග පිළිබඳ හැඳින්වීමක්, (Introduction to Philosopical Principles - George Lister) නම් පොතෙහි මෙසේ සඳහන් කරයි. "අවකාශයක් නොදරන හා කාලය වුවමනා නොවන, විපර්යාසය හෝ මාරුවීමට පාත්‍ර නොවන යම් දැයක් ගැන සිතා ගැනීම කළ නොහැක්කක්ය."

මෙබඳු ප්‍රකාශයක් කෙරෙන් ස්වභාවය හා ස්පෘශ්‍ය දෑ මත රඳා පවතින මානසිකත්වය ප්‍රත්‍යක්ෂ වශයෙන්ම හුවා දැක්වෙන්නේය. ස්වකීය සීමාවෙන් බැහැර වූ ඕනෑම දෙයක්, කළ නොහැකි දෑ ලෙස, මෙබඳු මනසකට වැටහෙන්නට ඉඩ ඇත. අවංක ස්වභාවික විද්‍යාඥයකු විසින් පවසනු ලැබිය හැකි සියල්ල නම් "අදෘශ්‍යමාන කරුණු වනාහි මාගේ විෂය ක්ෂේත්‍රය කෙරෙන් බැහැරව පවතින්නාක් වේ. මා එය තහවුරු කරන්නේවත් ප්‍රතික්ෂේප කරන්නේවත් නැත" යනුය.

එතැනින් ඔබ්බට කිසිදු දැයක් ඉටු කිරීමට ඔහු ඉදිරිපත් නොවේ. පර්යේෂණවලට අවසර දෙන, පවත්නා ලෝකයේ බලප්‍රදේශයට සිය චර්යාව සීමා කරවන තැනැත්තකු විසින් තම පරාසයට පරිබාහිර අනෙක් යථාර්ථ පවතිය යන්න ප්‍රතික්ෂේප කරනු ලැබීමට අවසරයක් නැත. ඔහු විසින් එබඳු ප්‍රතික්ෂේප කිරීමක් කෙරේ නම් එය හුදෙක් ස්වකීය තීරණය මත කරනු ලබන ප්‍රකාශයක් මිස විද්‍යාත්මක පර්යේෂණයේ ගවේෂණය, පරීක්ෂණය හා සාධනයේ ප්‍රතිඵලයක් නොවන වග ඔහු විසින් අවශ්‍යයෙන්ම පිළිගනු ලැබිය යුතු වේ.

ස්වභාවික විද්‍යාඥයකු සම්බන්ධයෙන් අවශ්‍ය විය හැකි ආකාරයේ එනම්, ස්වභාවික හේතු හා ඵල භාෂිතයෙන් ස්වකීය පැවැත්ම හා අනන්‍යතාව තහවුරු කරවන දෙවියකු ගැන භක්තිකයෝ විශ්වාස නොකරන්නෝය.

## අදෘශ්‍යමාන පැවැත්ම පිළිගැනීම

වක්තෘවරුන් හා සාන්තුවරුන් විසින් අපට හඳුන්වා දෙන ලද එකම දෙවියන් සම්පූර්ණ, අදෘශ්‍ය, සදාකාලික, අන් සැමට වඩා විශිෂ්ඨ සහ සැම තැන සිටින අයකු වුවද එක් තනි ස්ථානයක රැඳී සිටින්නේ නැත. ඔහු පියවි ඇසට පමණක් නොව සියලුම සංවේද ඉන්ද්‍රියවලට පවා අදෘශ්‍ය වේ. සියලු අර්ථ, පදාර්ථ, ඉන්ද්‍රිය විෂය වූ ප්‍රකාශන, විද්‍යාත්මක පර්යේෂණ හෝ සාමාන්‍ය නිරීක්ෂන කෙරෙන් පරිබාහිර වූ භාවයක් මිනිස් මනසට ගෝචර වනුයේ භාර ගැනීමට අපහසු දැයක් වශයෙනි. තමන්ට සිතා ගන්නට අසීරු විය හැකි ලෙස නිශ්චය කෙරෙන යමක් සුළු වශයෙන් ගෙන ඉවත දැමීමට මිනිසුන් තුළ නැඹුරුවක් තිබෙන්නේය.

අදේවවාදීන් හා මානවියවාදීන්ගේ අදහස වනුයේ "දෙවියන් සිටින්නේ නම් ඔහු අප ඉදිරියේ පෙනී නොසිටින්නේ ඇයි ද" යනුයි.

ස්වකීය බලප්‍රදේශවලට ගෝචර නොවන සූත්‍ර හා නියම ඇසුරින් සත්‍ය තත්ත්වය කරා ළඟා වීමට හෝ සිද්ධාන්තයක් පහදා දීමට අපොහොසත් වන විද්‍යාවලට අඩු තරමින් එය සම්භාව්‍ය හා සාධ්‍ය නොවන බව නිරූපණය කරන පරීක්ෂණ ක්‍රමයක් සොයා ගන්නා තුරුවත් එහි පැවැත්ම හෝ නොපවතින බව ප්‍රතික්ෂේප කිරීමේ හැකිකමක් නැති අතර ඔවුන් විසින් එය තාවකාලික වශයෙන්, සිය විසඳුමක් පොරොත්තුව සිටින බන්දේසියේ ලා තැබිය යුතු වන්නේය.

සාධ්‍ය පැවැත්මක් ඇති හැටියට පිළිගනු ලැබෙන සියලුම දෑ පිළිගැනීමට හේතුවූයේ අපගේම පැවැත්ම සහ ඒවා පිළිබඳ අපේ වැටහීම හා අවබෝධය නොවේ ද? දෙවියන්ගේ පැවැත්ම භෞතික වශයෙන් දැක ගන්නට නොහැකි වීමත් ඔහුගේ ගුණාංග ශාරීරික වශයෙන් පැහැදිලි හෝ දෘශ්‍යමාන නොවීමත් ඔහුගේ නොපැවැත්ම පිළිබඳ සාක්ෂියක් වන්නේ කෙසේද? අප විසින් දැඩි සේ ගනු ලබන බොහෝමයක් උගැන්වීම් කෙරෙහි -පෙළැඹීම හට ගන්නේ අපගේ ඉන්ද්‍රියවලට ගෝචර වන හෝ සාමාන්‍ය විචාර බුද්ධිය හා තත්ත්වය කෙරෙන් නොවන වග සියලුම භෞතිකවාදීහු හඳුනති.

පැවැත්ම සම්බන්ධ වේදිකාව මතුයෙහි අදෘශ්‍යමාන වස්තු අසංඛ්‍ය

ප්‍රමාණයක් පිහිටන්නේය. අනන්ත වූ පරතර පටන් කුඩා වූ මූලිකාංග මාත්‍රය තෙක් වූ එබඳු තොරතුරු ශත සහස්‍ර සංඛ්‍යාත ප්‍රමාණයක් සොයා ගන්නට නූතන විද්‍යාවේ හා දැනුමේ දියුණුව කෙරෙන් හැකිව ඇත.

වත්මනෙහි විද්‍යාඥයින් කල්පනාවෙහි ගල්වන එක් ගැටළුවක් වන්නේ පදාර්ථය ශක්තිය බවට හැරීම හා එහි පරස්පරය ය. සියලුම දෘශ්‍ය වස්තූන් සිය බාහිර ස්වරූපය වෙනස් කර ගැනීම කෙරෙන් -දැව දැවෙන ආකාරයට- එකිනෙක අතර ශක්තිය හුවමාරු කරගනිති. ශක්තියෙහි සමර්පණයක් සිදුවෙයි. නමුත් විශ්වයේ ක්‍රමවත් බව කෙරෙන් ඇති වෙන ක්‍රියා සහ එහි ප්‍රතිඵලවල සුවිසල් බහුතරයක් සඳහා භ්‍රමණකේන්ද්‍රය වන මෙබඳු ශක්තියක් අප විසින් දැකීම හෝ ස්පර්ශය තුළින් තක්සේරු කරනු ලැබිය හැකිද?

විද්‍යාව, සංස්කෘතිය හා සාමාන්‍ය ජීවිතයට අදාළ සියලුම නිර්මාණවල දී විදුලිබලය අති විශාල භූමිකාවක් දරයි. නමුත් කිසිදු භෞතික විද්‍යාඥයකු හෝ ඒ සම්බන්ධ අන් කවරකු හෝ විසින් පර්යේෂණවල දී හෝ විද්‍යුත් උපකරණ සමග යෙදෙන දෛනික කටයුතුවලදී විදුලිබලය පියවි අයුරින් දැක තිබෙන්නේද? විදුලිබලය ක්‍රියාත්මක වන බව අප දැන ගන්නේ විදුලි ලාම්පුවක බැබලීම හෝ එවන් අන් පරීක්ෂණයක නිරීක්ෂිත ප්‍රතිඵල කෙරෙනි.

අයිසැක් නිව්ටන්ගේ සොයා ගැනීම දක්වා කිසි කෙනෙක් නිව්ටන් විසින් සිය ගුරුත්වාකර්ෂණ සමීකරණවලින් පෙන්වා දෙන ලද වස්තු අතර අන්‍යොන්‍ය ආකර්ෂණය ගැන කිසිවක් දැන සිටියේ නැත. ගුරුත්වාකර්ෂණය පියවි ඇසට දැක ගත නොහැකි වන අතර, ශබ්දයක් උපදවන්නේද, ස්පර්ශය, රස හෝ ගඳ සුවඳ ඔස්සේ වටහා ගත හැකිද නොවේ. නමුත් නිව්ටන්ගේ තැන් පටන් ගුරුත්වාකර්ෂණ නියමය විද්‍යාවේ ගණනයට අදාළ මූලික සංකල්ප වල අනර්තර්ගතයක් වේ. අපගේ අලුත් කර්මාන්ත සියල්ල සඳහා ඒවා ප්‍රයෝජනවත් වී ඇත. කෙසේ වෙතත් නිව්ටන් තෙමේම පවා තමන් විසින් ඒ සා දක්ෂ අන්දමින් රාශිගත කරන ලද බලය කිසිවිටෙකදී පියවි ඇසින් දුටුවේ නැත. ඔහුගේ අවධානය ඒ කෙරෙහි ඇඳවුයේ අහම්බෙන් ගසකින් ඇපල් ගෙඩියක් බිම ඇද වැටීම පිළිබඳව ලද අත්දැකීමයි.

සප්තරන්ජනය (වර්ණාවලිය) පිළිබඳ ශාස්ත්‍රය භෞතික විද්‍යාඥයන්ට බෙහෙවින්ම ප්‍රයෝජනවත් වී ඇත. වර්ණාවලියේ වර්ණ විහිදෙන්නේ පහළින් රතු පාටෙහි පටන් ඉහළින් දම්පාට තෙක් යයි ඔවුහු සළකති. නමුත් ඒ අයුරින්ම රතු පාටට පහළින් හා දම්පාටට ඉහළිනුත් අපගේ පියවි ඇසට විද්‍යමාන නොවන අසංඛ්‍ය වර්ණ පවතින බවද ඔවුන් විසින් පිළිගැනේ. ඒවායේ තරංග ආයාම අනුව වර්ණ ද වෙනස් වන බවත් ඔවුහු අපට කියා දෙති. තරංග

ආයාම වනාහි ආලෝකයේ උද්වේගයන්ය. හිරුගේ ආලෝකය එහි එක් කිරණයක අඩංගු සියලුම වර්ණවල සංයෝගයකින් සංරචිත වී ඇති අතර එහි විශේෂිත සුදු පැහැය වනාහි මේ සම්මිශ්‍රණය මගින් අපේ දෘෂ්ටීන් කෙරෙහි ඇති කෙරෙන සාමාන්‍ය හැඟීමය. මෙම කිරණ වස්තුවක් මත ගැටෙන විට එමගින් ඒවායින් යම් ප්‍රමාණයක් අවශෝෂණය කර ගනිමින් ඉතිරිය පරාවර්තනය කෙරේ. අපේ ඇස තුළට පිවිසෙන්නේ එම පරාවර්තිත කිරණ වන අතර එමගින් අපට වස්තුව නිරීක්ෂණය කළ හැකි වේ.

එපමණක් නොව, තරංගයේ දුබලතාවය හා බලයේ ප්‍රමාණයනට අනුව වර්ණවල වෙනසක් ඇති වන්නේය. තරංග ආයාමයේ වේගය තත්ත්පරයට සහයුතිෂ්‍රත 457,000 කට ළඟා වූණ තැන ආලෝකය රතු පැහැයට මාරුවන අතර සහයුනිෂ්‍රත 727,000 දී එය දම් පැහැයට හැරෙයි. මේ විචිත්‍රතාවලට ඉහළින් හා පහළින් නොගිනිය හැකි තරම් වර්ණ හා මන්දවර්ණවල ප්‍රභා අන්ධකාර හා පරිපූර්ණ ගණනාවක් පවතින්නේය.

අප වටා ඇති වාතයට ඊටම ආවේණික අද්භූත බරක් සතු වී තිබේ. එමගින් අපේ සිරුර කෙරෙහි ඇති කැරවෙන පීඩනය කිලෝග්‍රෑම් 16,000ක එකකි. නමුත් සිරුර ඇතුළත හා පිටත පීඩන සම වීම කරණ කොට ගෙන අපට අපහසුවක් නොදැනේ. ගැලිලියෝ ගැලිලි (1564-1642) හා බ්ලේස් පැස්කල් (1623-1662) වකවානුවට කලින් මේ සත්‍යය ගැන කිසිවෙක් දැන ගෙන සිටියේ නැත. එමෙන්ම එය අපේ ඉන්ද්‍රිය ග්‍රහණයට අවබෝධ වී තිබුණේ ද නැත. විවිධ උච්චවල දී වායු පීඩනය අඩු වැඩි බව බඳු සමහර සංසිද්ධීන් කෙරෙන් වාතයේ බර පිළිබඳ උපකල්පනයක් වැටහීම සඳහාත් ඊළඟට එය පරීක්ෂා කොට සනාථ කැරවීම සඳහාත් චින්තකයෝ පෙළැඹීමක් ලැබූහ.*

එපමණක් නොව, ඉන්ද්‍රිය ඥානය කෙරෙන් වටහා ගත හැකි පර්යේෂණ පාදක කොට ගෙන විද්‍යාඥයින් විසින් අනුමාන කරනු ලැබෙන ස්වාභාවික ගුණාංග මෙන් ම ඒ කෙරෙන් උකහා ගනු ලැබෙන වැටහීම ද සෘජුවම තේරුම්

---

* අපගේ හතරවැනි ඉමාම් තුමන් වූ සෙයින් - අල් ආබිදීන් අල් සජ්ජාද් විසින් සිය ගීතිකාවල, අදාළ සංකල්පය පිළිබඳව මේ අයුරින් ඉඟි කරවනු ලැබේ :

අපගේ මැවුම්කරු හා ආරක්ෂකයාණන් වන ඔබ වහන්සේ පාරිශුද්ධ හා අන් හැමටම වඩා විශිෂ්ට ද වන සේක. මන්ද, අහසෙහි බර ඔබ වහන්සේ හඳුනන සේක. ලෝක වල බර ඔබ වහන්සේ හඳුනන සේක. හිරුගේත් සඳුගේ ත් බර ඔබ වහන්සේ හඳුනන සේක. ආලෝකයෙහිත් අන්ධකාරයෙහිත් බර ඔබ වහන්සේ හඳුනන සේක. අපගේ මැවුම්කරු හා ආරක්ෂකයාණන් වන ඔබ වහන්සේ ආකාශය හා මායාවේ බර ඔබ වහන්සේ හඳුනන සේක.

ගත හැකි නොවන්නේය. ගුවන් විදුලි තරංග සෑම තැනකම, සෑම විටෙකදීම, සියලුම දිසාවලට ගමන් කරමින් තිබුණත් තවම ඒවා දැක ගන්නට ලැබී නැත. පෘථිවියේ කිසිදු ස්ථානයක් ගුරුත්වාකර්ෂණයේ බලපෑම් කෙරෙන් අත් මිදී නොතිබුණත් අදාළ බලය ද්‍රව්‍යාත්මක නොවන්නේය. ප්‍රමාණය දැන ගැනීම සඳහා එහි අංශු දැක ගත හැකි වන්නේ ද නැත.

විද්‍යාවට අදාළ කර්තව්‍යය හා එහි විජයග්‍රහණය වන්නේ අදෘශ්‍යමාන බලවේගයන්හි බලපෑම අධ්‍යයනය කර එහි පැවැත්ම හා ක්‍රියාකාරිත්වයට අදාළ අභ්‍යන්තරික නියමයන් සොයාගැනීමයි.

භූ විද්‍යාවේ දී පෘථිවියේ භූ පටලයේ ස්ථරවල භූමි සංස්ථාපනය ගැන සොයා බැලෙන්නේය. වසර මිලියන ගණනාවක් තිස්සේ ඒවා සකස් වුණ පිළිවෙළ පිළිබඳ සම්පූර්ණ හා නියත කරුණු එමගින් අපට සපයා දෙන අතර ඒවායේ අඛණ්ඩතා මෙන්ම හැකිලීම් හා මතුවීම්ද කෙරෙන් සාගරවල සම්භවය, ඒවායේ පැතිරීම, කඳු පංතිවල සකස්වීම, මහාද්වීපියික ද්‍රෝණ වත්මන් පිහිටීම්වලට ළගා වූ අන්දම ආදිය අපට කියා දෙයි. කෙසේ වුවත් අද ජීවත් වෙන එකදු මිනිසකු වුව ඔවුන් ගාම්භීර ලෙස අපට කියා දෙන මේ සිදුවීම් අත් දකින්නට ජීවතුන් අතර සිටියේ නැත. එමෙන්ම අප විසින්ම ද ඒවා පියවි ඇසින් දකිනු ලැබ නැතිවුවත් ඒ ගැන අප තුළ විශ්වාසයක් පවතියි.

රූපශෝභාව හෝ ආලය, වෛරය හා විරෝධය හා දැනුම බඳු පාරභෞතික සංකපල් වලට ද , තේරුම් ගත නොහැකි ආකාරයේ පැවැත්මක් ඇති අතර ඒවායේ ස්වභාවය නිශ්වය කිරීම හෝ ඊට සීමාවන් නියම කිරීම හැකි නොවේ. මිනිසා ස්වකීය දැනීම පිළිබඳවත් තමන් දන්නා දෙය පිළිබඳවත් එමෙන්ම ඉන්ද්‍රිය ඥානයට ප්‍රත්‍යක්ෂ නොවන සත්‍යතා පිළිබඳ සිය අවබෝධය පිළිබඳවත් දැනුවත් ය. මිනිසාගේ පුද්ගලභාවය ඇතුළත පවත්නා ආත්මයට අන් කිසිඳු මිනිසකු විසින් නිරීක්ෂණය කරගනු ලැබිය නොහැකි වන අතර මිනිස් තෙමේ ඒ පිළිබඳව දැනුවත් වන්නේ ය. පුද්ගලීය චේතනා පිළිබඳ ඉඟියක් අපට ලැබිය හැක්කේ හැසිරීම් පිළිබඳ නිරීක්ෂණ මගින් පමණකි.

මේ සාධක ස්පර්ශ කළ නොහැකිවීම සහ ඒවායේ ගුණාංගවල ගුප්ත බව පමණකින් ඒවායේ පැවැත්මේ ශූන්‍යතාව ප්‍රකාශ වන්නේද? දෙවියන්ගේ පැවැත්මට අනිවාර්යයෙන්ම ඔහුගේ ශාරීරික විශාලත්වය හා දශාව අනුගත විය යුතු වග අදේවවාදීන්ගේ ඇඳහීමයි. ඔහුට ද තමන්ට මෙන් අත්පා කට්ටලයක් නැති තැන ඔහුගේ පැවැත්ම පිළිගත නොහැකි බවක් ඔවුහු සිතා සිටිති. නමුත් මේ වනාහි ප්‍රතිමාවලින් දේවාල තනන ප්‍රතිමා වඳින මිනිසුන්ගේ සංකල්ප විය හැක. ඔවුන්ගේ ඇස හා තර්කය අන්ධ වීම කරන කොට ගෙන

දෙවියකු පිළිබඳ පැවැත්මක් ඇති නම් එම දෙවියාට තම ඇසේ ඉලක්කයට හසු වෙන, තමන් හා සදෘශ පැවැත්මක් තිබිය යුතු බවට ඔවුහු තීරණය කරති. එමෙන්ම වඩාත්ම නිශ්චිත හා නිවැරදි එක වන්නේ ඉන්ද්‍රිය ඥානය බව ඔවුන් විසින් හඟිනු ලැබෙන නිසා විද්‍යාවේ හා දර්ශනයේ ගැටළු හුදෙක් ඉන්ද්‍රිය විෂය කෙරෙන් ලබන අවබෝධය ඔස්සේ විසඳාලිය නොහැකිය යන කරුණ බැහැර කොට ඔවුහු මෙකී අදහස කෙරෙහි එල්බ ගෙන සිටිති. මෙබඳු සංකල්පයක් හුදෙක් රැවටිලි සහගත එකක් වන්නේය.

ඉන්ද්‍රියම අවබෝධතා කෙරෙන් පමණක්, ඒවායින් අපට පැහැදිලි කරවන පරිදි, යථාර්ථ පිළිබඳ සර්වත්‍රයම වැටහිය නොහැක. සමහර යථාර්ථ පිළිබඳ නිශ්චිත සැහීමකට මග පාදා දෙන ඇස ම අනෙක් යථාර්ථ විදහා පෙන්වීමෙහි ලා බොහෝ සෙයින් අසමර්ථ වන්නේය. මනෝවිද්‍යාත්මක පතපොත මගින්, ඇස විසින් ඇති කරනු ලැබෙන වැරදි පරාසයක් කෙරෙහි අපගේ අවධානය යොමු කරවමින් ඉන්ද්‍රිමය අවබෝධයට සම්බන්ධ වැරදි පිළිබඳ බොහෝ දුරට හෙළිදරවු කරවා දී ඇත. ඇසට අදාළ සංවේදනය කෙරෙන්ම ගොඩ නගන ලද වැරදි නිසා හටගත්, කිසිඳු ස්වීය යථාර්ථයකින් තොර රැස්කාන්ති හා විවිධ විපර්තිතතා අඩංගු සිත් සසල කරවන සුළු රූප පෙළක් ගෙන හැර දැක්වෙන්නේය. ඒ හා සමානව සිනමාරූපී චිත්‍රපටවල අසංඛ්‍ය වෙන් වෙන් රූප රාමු වෙන් කොට වටහා ගැනීමට අපගේ ඇය අසමත් වී නම් ඒවා නිසා අඛණ්ඩ චිත්‍රයක් අපගේ මනසේ විචිත්‍රණය නොවන්නටත් එය චලනය වෙමින් පවතින එකම නිශ්චල ජායාරූපයක් සෙයින් ම ඇය විසින් ග්‍රහණය කර ගනු ලැබෙන්නටත් ඉඩ ඇත.

ස්ශීපවිෂයක ප්‍රත්‍යක්ෂයේ මේ ප්‍රමාදී බව සරල පරීක්ෂණයකින් පහසුවෙන් අවබෝධ කොට ගත හැකි වන්නේය. ලොකු පැන් කෙණ්ඩි 3 ක් ගන්න. පළමු කෙණ්ඩියට උතුරන්නට කිට්ටු වතුර පුරවන්න. දෙවැන්න කාමර උෂ්ණත්වයේ පවතින වතුරවලින් පුරවන්න. තුන්වැන්න මිදෙන්නටත් කිට්ටු සීතල වතුරින් පුරවන්න. දැන් එක් අතක් උණු වතුර තුළටත් අනෙක සීතල වතුර තුළටත් ගිල්වන්න. මඳ වේලාවක් දැත් එසේම තබා ගන්න. දැතම එක්වර ඉවතට ගෙන ඊළගට දැතම එකවර කාමර උෂ්ණත්වයේ පවතින වතුර සහිත දෙවැනි කෙණ්ඩියෙහි ගිල්වන්න.

ඔබ පුදුමයට පත් කරවමින් එකම මොහොතකදී එකිනෙකට පරස්පර අත්දැකීම් දෙකක් එක විට අත්විඳින්නට ඔබට හැකි වනු ඇත. උණු වතුරින් පිටතට ගන්නා ලද අත, කාමර උෂ්ණත්වයේ වතුර සීතලය යනුවෙන් ඔබේ මොළයට දැනුම් දෙන අතර සීතල වතුරින් පිටතට ගත් අත, දෙවැනි

කෙණ්ඩියේ ඇති වතුර එතරම් උණුසුම් හෝ සීතල නොවන සාමාන්‍ය උෂ්ණත්වයකින් යුතු වූ බවක් හැගෙනු ඇත.

තර්කය පවා ඔබේ අත කෙරෙන් ඔබගේ ම මොළයට දෙනු ලබන ආරංචි අසත්‍ය බව ප්‍රකාශ කරවන්නේය. එක් කෙණ්ඩියක ඇති වතුර තුළ තිබිය හැක්කේ එක් උෂ්ණත්වයක් පමණකි. ඔබගේ දෑත ගෙන ආ තීන්දුව ඒවායේ ප්‍රථම අවස්ථාවේ බලපෑම නිසාය. ඔබේ මනස විසින් එය වෙන හැටියකින් ප්‍රකාශ කැරවෙන්නේය.

මෙනයින් ඉන්ද්‍රිය ඥානය කෙරෙන් දෙනු ලබන තීන්දු පිළිබඳව අවධානයක් ඇති කර ගැනීම ඔබට අනිවාර්ය වන්නකි. ඒ සම්බන්ධයෙන් අන් කිසි මග පෙන්වීමක් තිබේද?

මේ අනුව සිතා බලද්දී අපගේ පසිඳුරන් අපගේ ප්‍රායෝගික ජීවිතයට කවර තරම් ප්‍රයෝජනවත් වූවත් ඒවාට යථාර්ථවාදී හෝ තාත්ත්වික අගයක් නොමැත. ස්වකීය තොරතුරු ලබා ගැනීම සඳහා තම ඉන්ද්‍රිය අවබෝධය කෙරෙහිම බලාපොරොත්තුව තබන මිනිසුන් කිසිඳු විටෙක පැවැත්ම පිළිබඳ ගැටළු හෝ මැවීමට අදාළ අබිරහස අවබෝධ කර ගැනීමට සමත් නොවෙති. මරණය සම්බන්ධ රහස් (Secrets of Death) නම් පොතේ කෙමිලි ෆ්ලැමේරියන් විසින් සඳහන් කෙරෙන පරිදි : "මිනිස් වර්ගයා අවිද්‍යාව හා නොදැනුවත්කම තුල ගිලී ස්වකීය ජීවිතය ගෙවා දමයි. මිනිසාගේ ශාරීරික සංස්ථාව කෙරෙන් යථාර්ථය කරා ළගා විය නොහැකි බවත් පසිඳුන් කෙරෙන් තමන් සෑම අභිප්‍රායකදීම නොමග යවන බවත් ඔහු තුළ වැටහීමත් නැත. ඔහුට යථාව අවබෝධය කරවන්නා වූ එකම මග වන්නේ සිහිබුද්ධිය, චින්තනය හා තර්කයයි.

මෙම ඉන්ද්‍රිය පහට අවබෝධ කරගත හැකි හෝ ගෝචර නොවන අණු හා පරමාණු වැනි පදාර්ථ හා ශක්තීන් ද පවතින බව නූතන විද්‍යාව හා තාර්කය මගින් අපට ප්‍රමාණවත් සාක්ෂි ලබා දෙන්නේය. මෙම නිගමනය මගින් අපේ ඉන්ද්‍රිය ඥානයට පරිබාහිර බොහෝ දේවල් පැවතීම පිළිබඳ සම්භාවිතාවට අප අවට විශ්වය විවරකර දෙනු ලැබේ. අපගේ ඉන්ද්‍රියයනට ගෝචර නොවූ දැයෙහි පැවැත්ම පිළිබඳව අපට ප්‍රතික්ෂේප කළ නොහැක. මන්ද ඒවායේ පැවැත්ම අවබෝධ කර ගැනීමට ඉන්ද්‍රිය ඥානය අසමත් වීම ඒවා නොපවතින බවට විද්‍යාත්මක සාක්ෂියක් නොවන බැවින්ය. පවත්නා සෑම දෙයක්ම ග්‍රහණය කර ගැනීමට අපගේ බාහිර සංවේදනවලට සමර්ථතාවක් නොවේ. ඇත්ත වශයෙන්ම ඒවා විටෙකදී අප නොමග යවමින් සත්‍ය දැයෙහි විරුද්ධ පක්ෂය අපට ගෙන හැර පාන්නේය. පැවැත්මට අදාළ සියලුම සත්‍යතා අපගේ ඉන්ද්‍රිය

ඥානය කෙරෙන් ග්‍රහණය කළ හැකි දැයට අනුගත වන බවත් අප විසින් සිතාගත යුතු නොවේ. සැබැවින්ම ප්‍රතිවිරුද්ධව අප විසින්, අපට කිසි විටෙකත් ප්‍රත්‍යක්ෂ කර ගත නොහෙන පදාර්ථ පැවතීමේ සම්භාවිතාව වටහා ගනු ලැබිය යුතු වන්නේ ය. උදාහරණයක් හැටියට බැක්ටීරියා පිළිබඳව සොයා ගන්නට පෙරාතුව ඒවා මිලියන ගණනාවක් අපගේම සිරුර තුළත් පිටතත් පවතින බව කිසිවකු විසින් කිසිඳු අවස්ථාවක්වත් නොසිතන ලද අතර හැම අයකුගේම ජීවිතය බැක්ටීරියා අතර සටනක රණ බිමක් වන බවද එදා අපට වැටහුණේ නැත.

මෙනයින්, පැවැත්ම පිළිබඳ යථාව අපට පිළිඹිබු කරවන්නට අපගේ බාහිර ඉන්ද්‍රියවලට ශක්තියක් නැත්තේය. අප ජීවත්වන විශ්වයේ සංස්ථිතිය පිළිබඳ පැහැදිලි සත්‍යය නිවැරදි ලෙස අපට අවබෝධ කොට ගත හැක්කේ තර්කය හා සිතීම කෙරෙන් පමණක්ය යන නිගමනයට අපි පැමිණ සිටින්නෙමු.

## භෞතිකවාදයේ පැතිරීම

ආගමික ඇදහිලි වෙත මිනිසා ඇදී යාම පිළිබඳව විශේෂ අධ්‍යයනයක් අවශ්‍ය නැත. මන්ද, ආගමික විශ්වාසය ඔහුගේ ස්වභාවය තුළ සහජයෙන්ම ගැබ් වී තිබේ. මිනිසාගේ ආත්මය හා බුද්ධිය මුල් කරගත් මානව ස්වභාවය, දේව වන්දනය හා ඒක දේවවාදය වෙතට ඔහු යොමු කරන්නේ ය.

භෞතිකවාදය ඉහත කී මානව ස්වභාවයට හාත්පසින්ම වෙනස් ස්වරූපයක් ගනී. "මිනිසා ආගමික ඇදහිලි වෙත යොමු වූයේ මක්නිසාදැ"යි සොයමින් කාලය හා ශ්‍රමය නාස්ති කිරීමට වඩා, විද්‍යාව මගින් මිනිසා භෞතිකවාදී ආකල්පයක් වෙතට ඇදී යාමට තුඩු දුන් හේතු සාධක පිළිබඳව අධ්‍යයනය කිරීම වඩා උචිතය.

ක්‍රි.ව 18 වැනි හා 19 වැනි ශතවර්ෂවල ලෝකය දුටු විශ්මිත විද්‍යාත්මක හා දාර්ශනික ප්‍රගතිය තුළින් භෞතිකවාදී චින්තන හා ආකල්ප ඔප නැංවුණු බව භෞතිකවාදීහු කියති. ඔවුන්ට අමතක වූ කාරණා කිහිපයක්ම වේ. ඉතිහාසයේ ඈත මුල්ලක අපට හමුවන ජනසමාජ වල පවා, උගත් හා නුගත්, සංවර හා අසංවර, ශිෂ්ඨ හා අශිෂ්ඨ සෑම සමාජ කණ්ඩායමක් තුළම එක්තරා අන්දමක පාරභෞතික බලවේග පිළිබඳ විශ්වාස හා ඇදහිලි නිරන්තරයෙන්ම පැවතුණි. වත්මන් විද්‍යාත්මක යුගයේ පවා උගත් මෙන්ම සාමාන්‍ය මිනිස්සු, සමාජයේ සෑම තරාතිරකම සිටින අය, පාරභෞතික විශ්වාසයක් දරන අතර දෙවියන් වහන්සේගේ පැවැත්ම ගැන විශ්වාස කරන්නෝය. භෞතිකවාදීන් දරණ ආකල්පය නිවැරදි නම්, උගත් තරමට කෙනෙකු අදේව වාදියෙකු විය යුතුය.

එහෙත් යථාර්ථය ඊට හාත්පසින්ම පටහැනිය. විටෙක අපි දකින අන්දමට වඩාත්ම උගත් පුද්ගලයා ප්‍රබලතම විශ්වාසවන්තයා වේ.

"විද්‍යාව පැමිණේ. දෙවියා අහෝසි වේ" යනුවෙන් සටන් පාඨ කී අය එක අතකින් සත්‍යයක් කීවත් අනෙක් අතකින් ඔවුන්ගේ නූගත්කම ද ප්‍රකාශයට පත් කළෝය. විද්‍යාවේ වර්ධනයත් සමග සොබා දහමේ, විශ්විය ක්‍රියාකාරිත්වයේ මිනිසා මේවන විටත් නොදැන සිටි බොහෝ දේ සොයාගැනීමට විද්‍යාව මගින් සමත් වූ බව එම සත්‍යයයි. නාඳුනන බලවේග ගැන බියට පත්වීමෙන් හා නූගත්කමින් ආගමික ඇදහිලි බිහි වූ බවට කළ විශ්වාසය, එම සටන් පාඨ මගින් ප්‍රකාශයට පත් කරන ලද නොදැනුවත්කමයි.

දේව විශ්වාසය සතු පුද්ගලයා, සොබාදහමේ රහස් හා විශ්මයන් ගැන පැහැදිලි කරන විද්‍යාත්මක සොයා ගැනීම් පිළිබඳ කුතුහලයෙන් පසුවෙන්නේ එමගින් සිය භක්ති විශ්වාසය වඩ වඩාත් තහවුරු කරගැනීම පිණිසයි. විශ්ව නිර්මාණයේ හා එහි ක්‍රියාකාරිත්වයේ විවිධ හා සංකීර්ණ තැන් දකින ඔහු තුළ එහි නිර්මාණකරුවා පිළිබඳ විශ්මය, ගෞරවය හා භක්තිය දිනෙන් දින වැඩිවේ. සියල්ල එක දම්වැලක පුරුකක් මෙන් සම්බන්ධ කරන හේතුඵලවාදයේ ආශ්චර්යය දකින ඔහු "මුල් හේතුව" පිළිබඳ භක්තියාදරයක් ඇති කරගනී.

මිනිසා බාහිර ලෝකය පිළිබඳ සොයා බැලීමට පටන් ගත්තේ මෑත යුගයේ දී ය. තම වටා ඇති ලෝකයේ සංකීර්ණ නිර්මාණය පිළිබඳව ඔහු ඒවනතුරු බොහෝ දේ දැන නොසිටියේ ය. එහෙත් අද දිනෙන් දින අලුත් සොයා ගැනීම් එළි දකී. මිනිසාගේ ශරීරය කෝටි ප්‍රකෝටි සෛලයන්ගෙන් සමන්විත බව දැනගත් විට මිනිසා තමන් තුළම පවතින මැවුම්කරුගේ විශ්මය අවබෝධ කරගනී.

මේ අන්දමට හේතු සාධක, සිද්ධීන් හා සොබා දහමේ ආශ්චර්යයන් හඳුනාගත් විට, ඒවා සියල්ලටම පදනම වූ ප්‍රධාන හේතුව හෝ නිර්මාණකරු හඳුනා ගැනීම වෙත නිරායාසයෙන්ම යොමු වනවා නොවේ ද?

විශ්වයේ නිර්මාණය තුළ ගැබ් වූ රහස් තේරුම් නොගත් අයට පමණක් ආගමික විශ්වාසය අදාළ වන බවට කීම තර්කානුකූල වන්නේ කෙසේද? මැවිල්ලේ සියලුම ප්‍රකාශන පියවරෙන් පියවර පරිපූර්ණත්වය කරා ගමන් කරන ආකාරය හා ඊට පසුපස ඇති හේතුකාරක ගැන දැනුවත් වූ විද්‍යාඥයා, මේ සියලුම ක්‍රියාකාරිත්වයන්ට මුල් වූයේ අබුද්ධිමත් අජීවී භෞතික වස්තුවක් යන නිගමනයට එළඹිය හැකිද? ඔහුගේ සියලුම පර්යේෂණ වලින් හා සොයා ගැනීම් වලින්, බුද්ධි විචාරය මගින් ඔහු තේරුම් ගන්නේ මේ සා විශාල කුඩා සැලසුම හා අන්තර් සම්බන්ධතා, කිසිදු සැලසුම් කිරීමකින් තොරව ඉබේටම

ඇති වූ බව නම් කෙතරම් ඛේදජනක ද?

භෞතිකවාදයේ බිහිවීමට තුඩුදුන් ඇතැම් ඓතිහාසික හේතූන් ගැන අධ්‍යයනවලින් අපට හෙළිවේ. ඒවායින් ක්‍රිස්තියානි දේව සභාවේ බලධාරීන්ගේ ඇතැම් වැරදි ක්‍රියාවන් ප්‍රධාන තැනක් ගනී.

පුනරුදයේ ආරම්භයේ දීම, කිතුණු සභාව, "නූතන දැනුම"ට පක්ෂපාතීත්වය දැක්වූවන්ට තදින් විරුද්ධ විය. ක්‍රිස්තියානි ධර්මයේ මූලධර්මයන්ට අමතරව, හෙළනිය හා හෙළනීය නොවන දාර්ශනිකයන්ගෙන් උරුම වූ බොහෝ සංකල්පනා ද දේව සභාවේ උරුමයන් බවට පත්ව තිබුණි. විශ්වය පිළිබඳ බොහෝ ප්‍රාථමික අදහස් එහි අඩංගු විය. ඒවා ප්‍රතික්ෂේප කිරීම ආගමික මූලධර්මයන් ප්‍රතික්ෂේප කිරීමට සමාන බව දකින ලදී.

කලින් ඉතා දැඩි ලෙස සභාව මගින් එල්බ ගෙන සිටි බොහෝ සංකල්පනා හා ප්‍රතිපත්ති නූතන දැනුම මගින් මිත්‍යාවන් බව ඔප්පු කරන ලදී. සභාව ඒවා ආගම් විරෝධය ලෙස දැක දරුණු ප්‍රතිචාරයක් දක්වන්නට විය.

අලුත් සොයාගැනීම්වල නිරතව සිටි විද්‍යාඥයින් සභාවේ ගැරහුමට ලක්වූහ. ඔවුන් සියල්ල සභාවට විරුද්ධව මතවාදයක් ගොඩනැංවූහ. සභාව දැරූ ඇතැම් අවිද්‍යාත්මක ස්ථාවරයන් ප්‍රතික්ෂේප කිරීමට පියවරක් ඉහළින් ගොස් සභාව නියෝජනය කළ ආගමේ සියලුම මූලධර්ම නිෂ්ප්‍රභා කිරීමට මෙම විද්‍යාඥයෝ උත්සුක වූහ.

මෙම අළුත් විරෝධතාව මැඩලීම සඳහා සභාව මගින් වඩා දරුණු ලෙස ක්‍රියා කරන ලදී. දෙපිරිස අතර එකිනෙකට පළිගැනීමේ මානසිකත්වය බිහි විය. උගත් විද්‍යාඥයෝ "නාන තොටියේ වතුර සමග දිය නාමින් සිටි දරුවාද" විසි කරන්නට වූහ. ආගම හා දෙවියන් වහන්සේ පිළිබඳ විශ්වාසය නියෝජනය කළ සභාව සමග දේව විශ්වාසය ද ගැරහුමට ලක්කර ප්‍රතික්ෂේප කළෝය.

එක්තරා ජනකොට්ඨාශයක් සතුව තිබූ මිත්‍යා අදහස් ප්‍රතික්ෂේප කිරීම එකකි. ආගම, එහි පරිසමාප්ත අර්ථයෙන් නිෂ්ප්‍රභා කිරීම තවත් එකකි. මෙම පරස්පරතාවය එම වකවානුවේ දී අවබෝධ නොවිය. හැඟීම්වලට වහල් වී ම විද්‍යාත්මක නොවන බවත් පළිගැනීමේ චේතනාව බුද්ධිමත් කරුණක් නොවන බවත් ඉතා පැහැදිලිය.

භෞතිකවාදය පැතිරීමට තවත් හේතුවක් විය. දෙවියන් වහන්සේ ගැන විස්තර කිරීම සඳහා, බටහිර කිතුණු සභාව මගින් භෞතික, ඓතිහාසික මෙන්ම මනඃකල්පිත රූප හා සුරුවම් උපයෝගී කරගන්නා ලදී. දරුවන්ට ආගම ඉගැන්වීමේදී මේවා පාසැලදීත් පල්ලියේදීත් ප්‍රයෝජනයට ගන්නා ලදී. දරුවන්

වැඩ ඔවුන්ගේ අධ්‍යාපන මට්ටම ඉහළ ගිය විට, මෙවන් රූප හා සුරුවම් සියල්ල අවිද්‍යාත්මක මෙන්ම අසත්‍ය ඒවා බව අවබෝධ කරගත්හ. අවාසනාවකට මෙන් මෙම තරුණ පරපුර පල්ලියෙන් ඈත්වන්නටත් භෞතිකවාදය තුළ සරණ පතන්නටත් පටන් ගත්හ. දෙවියන් වහන්සේගේ පැවැත්ම පිළිබඳව තර්කානුකූලව බුද්ධිමත්ව අවබෝධ කරගැනීමට ඔවුහු අගොපාහොසත් වූහ.

ඇමෙරිකානු විද්‍යාඥ ඔස්කාර් ලන්ඩ්බර්ග් සිය අදහස මෙසේ විස්තර කරයි.

"විද්‍යාඥයෝ දේව විශ්වාසය හෝ දෙවියන් වහන්සේගේ පැවැත්ම පිළිබඳව සැක පහළ කිරීමට හේතු ගණනාවක්ම තිබුණි. ඇතැම් විට දේශපාලනය හෝ සමාජවිද්‍යාත්මක හෝ ජාතිවාදී සැලකිලි මුල්කරගෙන රජය සියලු දේට වඩා ප්‍රබල ශක්තිමත්, අනෙක් සියලුම බලවේග අභිබවා යන බලකේන්ද්‍රයක් යන අදහස තහවුරු වීම ඉන් එකකි.

සැම පරපුරකම මිනිසාගේ චින්තනය, ආධ්‍යාත්මික වේවා, භෞතිකමය වේවා, බොහෝ පූර්ව නිගමනවලින් ද සමන්විත විය. සැම විටම ස්වාධීන නොවිය. යුගයට හා පරිසරයට අදාළ බොහෝ කරුණු ද ඒවාට බලපාන්නට විය. මේවා නිසියාකාර විස්තර කිරීමද භෞතිකවාදී රැල්ලට සාධක වූ කරුණක් විය.

තවද, "දෙවියන් වහන්සේ සිය ස්වරූපයෙන්ම මිනිසා නිර්මාණය කළේය" යි දරුවන්ට දේව සභාව මගින් දේශනා කරන ලදී. මෙම භෞතිකමය සංකල්පය නිසා, මිනිසකු ලෙස පෙනී සිටිය හැකි දෙවියන් වහන්සේ ගැන අවබෝධ කරගැනීමට තරුණ පරපුරට අසීරු විය. ළමා වියේ විශ්වාසය දියුණු විද්‍යාත්මක කරුණු සමග තුලනය කර අවබෝධ කරගැනීමට නොහැකි වූ විට, එය අවිද්‍යාත්මක විශ්වාසයක් ලෙස නිගමනයකට එළැඹීමට ඔවුන්ට සිදු විය.

තමන්ගේ පර්යේෂණ හා උසස් දැනුම් මට්ටමේ ආලෝකය යටතේ ඉහත විශ්වාසයන් පිළිබඳව තර්කානුකූල හා බුද්ධිමත් විශ්ලේෂණයකට නොඑල්බ, පරස්තරතාවයක් දුටු සැණින්ම අංග සම්පූර්ණ ලෙස ප්‍රතික්ෂේප කිරීමට ඔවුහු ඉදිරිපත් වූහ."The Evidence of God in expanding Universe, Pg. 60- a collection of articles by 40 of the world's leading Scientists edited by John Colver Monsma)

පූජකවරුන් වෙත පනවන ලද තපස් ක්‍රමය ද තවත් හේතුවක් වූවා විය

හැක. මිනිස් නිර්මාණය තුළ ඇතැම් හැඟීම් හා ආවේග සහජයෙන්ම පිහිටා තිබේ. ඒවා මානව ජීවිතයේ දී අර්ථවත් මෙහෙයක් ඉටු කරයි. එම ආවේගවලට සම්පූර්ණයෙන්ම වහල්වීම කෙතරම් වැරදි සහගතද ඒවා සහමුලින්ම ප්‍රතික්ෂේප කිරීම ද වැරදිය. සිය ආවේග මනාව හඳුනාගෙන, තුලනාත්මකව පාලනය කර හසුකරලීම මිනිසාගේ යුතුකමයි. විශේෂයෙන්ම ලිංගික ආවේගයන් අනුමත වූ රාමුවක් තුළ යොදා ගැනීම පවා නිෂ්ප්‍රභා කර, එය පාපයක් ලෙසත් ලෝකෝත්තරය ජයග්‍රහණයට බාධාවක් ලෙසත් ගෙනහැර දැක්වීම සැමවිටම බුද්ධිමත් නොවිය.

ආගම මගින්, මිනිසාගේ හැඟීම් හා ආවේග වැඩි දියුණු කොට බුද්ධිමත්ව හා තුලනාත්මක ලෙස පාලනය කිරීම පිළිබඳව මාර්ගෝපදේශ ලබා දී තිබේ. ආධ්‍යාත්මික හා ශාරීරික පෙළඹීම අතර සමබරතාවක් ආරක්ෂා කිරීම මිනිස් ස්වභාවයට අත්‍යාවශ්‍ය අංගයක් වේ. මේ සමබරතාවය ගිලි ගී යෑම විපාර්යාසවලට හේතු විය හැක. මෙලෝ සැපත හා එලෝ සැපත අතර පරස්පරතාවයක් නොමැත.

එලෝ සැපත වෙනුවෙන් මෙලෝ සැපත සම්පූර්ණයෙන් කැප කරන ලෙස කළ ප්‍රචාරය හා ඇතැම් පූජකවරුන්ගේ ස්ථාවරය නිසා බොහෝ තරුණයින් ආගමික සංස්ථාවෙන් ඈත්වන්නට පටන් ගත්හ. භෞතිකවාදය වෙතට ඔවුන් තල්ලු වූහ.

සැබවින්ම, පාලනය කළ යුතු බොහෝ දෑ තිබේ. සුරා සූදු, මත්පැන්, අශික්ෂිත කම්සැප වැනි බොහෝ දේ දෙලොවේම දුකට හේතු වේ. මේවායේ නියැලෙන අයට පමණක් නොව ඔවුන් හා සම්බන්ධ සියලුදෙනාටම හිරිහැරයක් වනු ඇත. ජීවන මාර්ගය පිළිවෙළට තෝරා ගෙන සකසා ගැනීම මගින් මෙලෝ සැපතත් එලෝ සැපතත් සාක්ෂාත් කර ගන්නට පුළුවන.

මිනිසාගේ ක්‍රියාකාරීත්වය පිළිබඳව සදාචාරමය වශයෙන් කොටස් පහකට ඉස්ලාම් ධර්මය වෙන් කර දක්වයි. එහි ප්‍රධාන තැන ගන්නේ "අනිවාර්යයෙන් ඉටු කළ යුතු ක්‍රියාවන් ය. වන්දනාමාන කිරීම, යහපත් ක්‍රියාවන් සහ යහපත් චරිතය මෙම ගණයට අයත් වේ. මේවා ඉටු කිරීමේ අරමුණු මෙලෝ ජීවිතයේ සතුට ලබාගැනීම නොවූවාට මෙහි ප්‍රතිඵලයක් වශයෙන් සතුට උපදවනු ලබයි. මේවා දෙවියන් වහන්සේ වෙනුවෙන් ඉටු කරනු ලැබුවද එය මිනිස් ස්වභාවය උත්තරීතර අයුරින්ම ප්‍රකාශයට පත් කිරීම වේ. මේවා, ඉටු කිරීම නිසා ලැබෙන එලදාව අපේක්ෂාවෙන් ඉටු කරනු නොලැබේ.

දේව නැමදුම මගින් මිනිසා කවරෙක් දැයි හඳුනාගන්නා අතර පාපය හා

දූෂණය ඉවත් කොට මිනිසා තුළ සැබෑ මනුෂ්‍යත්ව ප්‍රතිෂ්ඨාපනය කරයි. සදාචාරය හා ප්‍රායෝගික ජීවිතය අතර ඝට්ටනය ඇති නොවන්නේ මේ නිසාය. මන්ද ආචාර ධර්මය මගින් ජයග්‍රාහී ජීවිතයකට මග පෙන්වනු ලැබේ.

ඉහත අපි සඳහන් කළා වූ නොමග යවන සුලු සංකල්ප හා තර්කානුකූල නොවූ දේශන, බර්ට්‍රන්ඩ් රසල් වැනි විද්වතුන් දෙවියන් වහන්සේට විරුද්ධ වීමට පාදක විය. රසල් කියන අන්දමට "කතෝලික සභාවේ දේශනා අනුව මිනිසා දෙයාකාරයක දොම්නස් දෙක අතර මැදිවී සිටී. මේවායින් එකක් අනිවාර්යයෙන්ම භුක්ති විඳිය යුතුය. එකක්, එලොවේ ලැබෙන සැපත වෙනුවෙන් මෙලොවේ ඇති සොම්නස් සියල්ල කැප කොට දොම්නසින් සිටීම. අනෙක මෙලෝ සැපතෙහි නියැලීමෙන් පරලොවෙහි දුක් විඳීම.

රසල් මහතාට වැරදී ඇත්තේ මෙතැනය. සැබෑ ධර්මය මගින්, දොම්නස හෝ දුක පමණක් තෝරා ගැනීමට මිනිසාට බල කර නැත. දේව කරුණාව හා අනුග්‍රහය අපිරිමිතය; අසීමිතය. දේවාශිර්වාදය දෙලොවේම සියලු සතුටින් සිටීම සඳහාය.

සදාචාරය හෝ ස්වයං පාලනයක් නොමැතිවීමද මිනිසා භෞතිකවාදයට ඇදී යන හේතුවකි. දුචරිතයේ පදනම ද භෞතිකවාදයයි. ආගම නිසා, මිනිසා පාරිශුද්ධ චරිතයක්, ආත්මයක්, බුද්ධියක් සහිත ජීවිතයක් වෙත පොළඹවනු ලැබේ. සාර්ථක දිවි පෙවතකට එකම මාර්ගය එයයි.